## 15 ගුණ කරන්න.

(1)

| | | | |
|---|---|---|---|
| | 4 | 0 | 7 |
| × | | | 2 |
| | | | |

(2)

| | | | |
|---|---|---|---|
| | 2 | 8 | 0 |
| × | | | 3 |
| | | | |

(3)

| | | | |
|---|---|---|---|
| | 3 | 4 | 2 |
| × | | | 4 |
| | | | |

(4)

| | | | |
|---|---|---|---|
| | 9 | 1 | 8 |
| × | | | 5 |
| | | | |

## 16 දී ඇති පිළිතුර ලැබීමට ගුණ කළ යුතු ඉලක්කම හිස් කොටුවෙහි ලියන්න.

(1)

| | | |
|---|---|---|
| | 1 | 2 |
| × | | □ |
| | 3 | 6 |

(2)

| | | | |
|---|---|---|---|
| | | 2 | 0 |
| × | | | □ |
| | 1 | 0 | 0 |

(3)

| | | | |
|---|---|---|---|
| | 2 | 4 | 6 |
| × | | | □ |
| | 4 | 9 | 2 |

(4)

| | | | |
|---|---|---|---|
| | 1 | 8 | 2 |
| × | | | □ |
| | 7 | 2 | 8 |

(5)

| | | | |
|---|---|---|---|
| | 4 | 9 | 3 |
| × | | | □ |
| 1 | 4 | 7 | 9 |

## 17 ගැටලු විසඳන්න.

(1) උත්සව ශාලාවක පිවිසුම් මාර්ගයේ දෙපැත්තේ ම සමාන ප්‍රමාණවලින් කොඩි සිටුවා ඇත. එක් පැත්තක සිටුවා ඇති කොඩි ගණන 543කි. පිවිසුම් මාර්ගයේ දෙපැත්තේ ම සිටුවා ඇති මුළු කොඩි ගණන කීය ද?

(2) කුමාර තාප්පයක් බැඳීමට ගෙනා ගඩොල් කැට සමානව ගොඩවල් තුනකට වෙන් කළේ ය. එක් ගොඩක ගඩොල් කැට 493ක් තිබේ නම් ගෙනෙන ලද මුළු ගඩොල් ප්‍රමාණය කොපමණ ද?

(3) සුමුදුගේ දැන් වයස අවුරුදු 9කි. ඇගේ අක්කාගේ දැන් වයස සුමුදුගේ දැන් වයස මෙන් දෙගුණයකි. සුමුදුගේ ආච්චිගේ දැන් වයස සුමුදුගේ අක්කාගේ දැන් වයස මෙන් හතර ගුණයකි.

(i) සුමුදුගේ අක්කාගේ දැන් වයස කීය ද?

(ii) සුමුදුගේ ආච්චිගේ දැන් වයස කීය ද?

(4) පාසලක ආදිශිෂ්‍යයෝ ප්‍රාථමික අංශයේ සිසුන් 610කට අභ්‍යාස පොත් පහ බැගින් ප්‍රදානය කළෝ ය. ඔවුන් විසින් ප්‍රදානය කරන ලද මුළු අභ්‍යාස පොත් ගණන කීය ද?





**18** පහත සඳහන් වේලාවන් එක් එක් ඔරලෝසු මුහුණතෙහි දක්වන්න.

(1) දොළහ පසුවී මිනිත්තු තිහයි.
(2) දහයට මිනිත්තු විස්සයි.
(3) නවය පසුවී මිනිත්තු විසිපහයි.
(4) හතට මිනිත්තු පහයි.
(5) තුන පසුවී මිනිත්තු පනස් පහයි.


(1)


(2)


(3)


(4)


(5)

**19** හිස්තැන් පුරවන්න.

| පැය 12 ඔරලෝසුවේ වේලාව | පැය 24 ඔරලෝසුවේ වේලාව |
|---|---|
| පෙ.ව. 1.30 | ............................ |
| ...................... | 08:45 |
| ප.ව. 4.15 | ............................ |
| ...................... | 22:10 |
| ප.ව. 9.45 | ............................ |
| පෙ.ව. 2.55 | ............................ |
| ...................... | 04:05 |

**20** දීර්ඝ බෙදීමේ ක්‍රමයට පිළිතුරු ලබා ගන්න.

(i) $605 \div 5$ (ii) $900 \div 5$

(iii) $704 \div 5$ (iv) $852 \div 5$

**21** දීර්ඝ බෙදීමේ ක්‍රමයට ගැටලු විසඳන්න.

(1) එක් කණුවකට බැලුන් බෝල දෙක බැගින් බැලුන් බෝල 490ක් ගැට ගැසීමට අවශ්‍ය කණු ගණන කීය ද?

(2) බිස්කට් 81ක්, එක් ළමයෙකුට බිස්කට් තුන බැගින් ළමයි කී දෙනෙකුට ලබා දිය හැකි ද?

(3) කොඩි 60කින් සෑම කොඩි වැලක ම සමාන ගණනක් තිබෙන පරිදි කොඩි වැල් හතරක් සැකසිය යුතු වේ. එක් කොඩි වැලක තිබිය යුතු කොඩි ගණන කීය ද?

(4) පුටු 610ක් කාමර පහක සමාන ප්‍රමාණවලින් තබා ඇත. එක් කාමරයක තබා ඇති පුටු ගණන කීය ද?

**22** සුළු කරන්න.

(1)

| | km | m |
|---|---|---|
| | 21 | 217 |
| + | 12 | 445 |

(2)

| | km | m |
|---|---|---|
| | 15 | 600 |
| + | 2 | 400 |

(3)

| | km | m |
|---|---|---|
| | 11 | 683 |
| + | 16 | 751 |

(4)

| | km | m |
|---|---|---|
| | 35 | 421 |
| − | 22 | 270 |

(5)

| | km | m |
|---|---|---|
| | 58 | 262 |
| − | 34 | 314 |

(6)

| | km | m |
|---|---|---|
| | 20 | 209 |
| − | 8 | 426 |

**23** පාපැදි තරගයක දී තරගකරුවන් ගමන් කරන මාර්ගයේ නගර අතර දුර දැක්වෙන සටහනක් පහත දැක්වේ. පහත ප්‍රශ්නවලට ඒ ඇසුරෙන් පිළිතුරු සපයන්න.




පළමුවන අදියර (red arrow)
දෙවන අදියර (blue arrow)

(1) පළමුවන අදියරේ දී තරගකරුවන් ගමන් කළ යුතු දුර කොපමණ ද?

(2) දෙවන අදියරේ දී තරගකරුවන් ගමන් කළ යුතු දුර කොපමණ ද?

(3) තරගය අවසන් කිරීමට ගමන් කළ යුතු මුළු දුර කොපමණ ද?

(4) පළමුවන අදියරෙහි දුර හා දෙවන අදියරෙහි දුර අතර වෙනස කොපමණ ද?

(5) එක් තරගකරුවෙක් A නගරයෙන් තරගය ආරම්භ කර D නගරයට පැමිණ තරගයෙන් ඉවත් විය. එවිට ඔහු ගමන් කළ දුර කොපමණ ද?

**24** විසඳන්න.

(1) මහවැලි ගඟේ දිග 335 kmකි. මල්වතු ඔයේ දිග 164 kmකි. මහවැලි ගඟ, මල්වතු ඔයට වඩා කිලෝමීටර කීයක් දිගින් වැඩි ද?

(2) වන්දනා නඩයක් ගමනකින් 42 km 150 mක දුරක් බස් රථයකින් ද ඉතුරු 59 km 900 mක දුර දුම්රියෙන් ද ගමන් කළහ.

(i) ඔවුන් බසයෙන් ගමන් කළ දුරට වඩා කොපමණ දුරක් දුම්රියෙන් ගමන් කර තිබේ ද?

(ii) ගමන් කළ මුළු දුර කොපමණ ද?

**25** මිල දර්ශනය බලා පිළිතුරු සපයන්න.

| ද්‍රව්‍යය | මිල රුපියල් | මිල සත |
|---|---|---|
| පෑන | 12 | 75 |
| මකනය | 7 | 50 |
| අභ්‍යාස පොත | 85 | 00 |
| පැන්සල | 8 | 50 |

(1) පෑනක් හා මකනයක් මිල දී ගැනීමට ගෙවිය යුතු මුදල කොපමණ ද?

(2) මකනයක් හා පැන්සලක් මිල දී ගැනීමට ගෙවිය යුතු මුදල කොපමණ ද?

(3) මකනයක මිල හා අභ්‍යාස පොතක මිල අතර වෙනස කොපමණ ද?

(4) පෑනක මිලට වඩා පැන්සලක මිල කොපමණ අඩු ද?

**26** ශිෂ්‍යයන් තිදෙනෙකු සෙනසුරාදා හා ඉරිදා පැවති අධ්‍යාපන ප්‍රදර්ශනයක ප්‍රවේශපත්‍ර අලෙවි කර ලබා ගත් මුදල් පහත දැක්වේ.

| ශිෂ්‍යයාගේ නම | ප්‍රවේශපත් අලෙවි කර ලබාගත් මුදල | |
|---|---|---|
| | සෙනසුරාදා | ඉරිදා |
| ඩිලාන් | රු. 700.00 | රු. 525.00 |
| ෆාතිමා | රු. 925.00 | රු. 680.00 |
| නුවන් | රු. 700.00 | රු. 370.00 |

(1) ඩිලාන් ළඟ එකතු වූ මුළු මුදල කොපමණ ද?

(2) නුවන්ට වඩා කොපමණ මුදලක් ඩිලාන් එකතු කර තිබේ ද?

(3) අඩුවෙන් ම මුදල් එකතු වී ඇත්තේ කා ළඟ ද?

(4) වැඩි ම මුදලක් එකතු වී ඇත්තේ කවදා ද?





# 13 පරිමාව හා ධාරිතාව - 1




1 ඔබගේ පන්ති කාමරයෙන් සොයා ගත හැකි විවිධ භාජනවලට අල්ලන ද්‍රව ප්‍රමාණ ලීටර සහ මිලිලීටර ඇසුරින් නිමානය කරන්න. මිනුම් සරාවක් භාවිත කර එම නිමාන නිවැරදි දැයි බලන්න. ඒ අනුව පහත වගුව සම්පූර්ණ කරන්න.

| තෝරා ගත් භාජනය | සිතූ ද්‍රව ප්‍රමාණය (නිමානය කළ ද්‍රව ප්‍රමාණය) | සැබෑ ද්‍රව ප්‍රමාණය |
|---|---|---|
| වතුර බෝතලය | 1 *l* 500 ml | 1 *l* 400 ml |
| ......................... | ......................... | ......................... |
| ......................... | ......................... | ......................... |
| ......................... | ......................... | ......................... |
| ......................... | ......................... | ......................... |

**2** එකතු කරන්න.

| | (1) | | (2) | | (3) | | (4) |
|---|---|---|---|---|---|---|---|
| $l$ | ml | $l$ | ml | $l$ | ml | $l$ | ml |
| 4 | 850 | 6 | 550 | 12 | 200 | 6 | 75 |
| + 2 | 740 | + 7 | 910 | + 11 | 810 | + 2 | 325 |
| | | | | | | | |

**3** වගන්ති ලියා ගැටලු විසඳන්න.

**උදාහරණය**

භාජනයක තිබූ ජල ප්‍රමාණය 8 $l$ 825 mlකි. එයට තවත් 7 $l$ 270 mlක ජල ප්‍රමාණයක් එකතු කරන ලදි. දැන් භාජනයේ තිබෙන මුළු ජල ප්‍රමාණය කොපමණ ද?

| | | $l$ | ml |
|---|---|---|---|
| තිබූ ජල ප්‍රමාණය | = | 8 | 825 |
| එකතු කළ ජල ප්‍රමාණය | = | 7 | 270 |
| මුළු ජල ප්‍රමාණය | = | 16 | 095 |

භාජනයේ තිබෙන මුළු ජල ප්‍රමාණය 16 $l$ 95 ml වේ.

(1) කමල් රතු පාට තීන්ත 4 $l$ 400 mlක් ඇති භාජනයකට සුදු පාට තීන්ත 2 $l$ 200 mlක් ද එකතු කළේ ය. දැන් භාජනයේ ඇති මුළු තීන්ත ප්‍රමාණය කොපමණ ද?

(2) ඉන්ධන පිරවුම්හලකින් පළමු දිනයේ දී රථයකට ඉන්ධන 4 $l$ 500 mlක් ද දෙවන දිනයේ දී 5 $l$ 750 mlක් ද පුරවන ලදි. දින දෙක තුළ දී රථයට පුරවන ලද මුළු ඉන්ධන ප්‍රමාණය කොපමණ ද?

(3) එක් භාජනයක කිරි 6 $l$ 250 mlක් ද තවත් භාජනයක කිරි 4 $l$ 900 mlක් ද ඇත. භාජන දෙකෙහි ඇති මුළු කිරි ප්‍රමාණය කොපමණ ද?

(4) වෙළෙන්දෙක් පළමු දිනයේ දී පොල් තෙල් 10 $l$ 600 mlක් ද දෙවන දිනයේ දී පොල් තෙල් 11 $l$ 750 mlක් ද විකුණුවේ ය. දින දෙකේ දී ම විකුණන ලද මුළු පොල් තෙල් ප්‍රමාණය කොපමණ ද?

**4** අඩු කරන්න.

| | (1) | | | (2) | | | (3) | | | (4) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | *l* | ml | | *l* | ml | | *l* | ml | | *l* | ml |
| | 7 | 450 | | 6 | 410 | | 16 | 125 | | 14 | 50 |
| − | 5 | 325 | − | 3 | 700 | − | 13 | 200 | − | 11 | 850 |
| | | | | | | | | | | | |

**5** වගන්ති ලියා විසඳන්න.

**උදාහරණය**

ටැංකියක තිබූ ජලය 15 *l* 800 mlකින් ජලය 8 *l* 750 mlක් ඉවත් කරන ලදි. ටැංකියේ ඉතුරු වූ ජල ප්‍රමාණය කොපමණ ද?

| | | *l* | ml |
|---|---|---|---|
| ටැංකියේ තිබූ ජල ප්‍රමාණය | = | 15 | 800 |
| ඉවත් කළ ජල ප්‍රමාණය | = | 8 | 750 |
| ඉතුරු ජල ප්‍රමාණය | = | 7 | 050 |

ටැංකියේ ඉතුරු වූ ජල ප්‍රමාණය 7 *l* 50 ml වේ.

(1) භාජනයක කිරි 17 *l* 650 mlක් තිබුණි. එයින් 12 *l* 750 mlක් විකිණූ පසු ඉතුරු වන කිරි ප්‍රමාණය කොපමණ ද?

(2) විකිණීම සඳහා ගෙනෙන ලද පොල් තෙල් 7 *l* 500 mlකින් පොල් තෙල් 1 *l* 900 mlක් ඉතුරු විය. විකිණී ඇති පොල් තෙල් ප්‍රමාණය කොපමණ ද?

(3) පලතුරු බීම වෙළෙඳසලක දොඩම් බීම 14 *l* 200 mlක් ද දිවුල් බීම 10 *l* 150 mlක් ද විකිණී ඇත. දිවුල් බීමවලට වඩා දොඩම් බීම කොපමණ ප්‍රමාණයක් විකිණී ඇති ද?

(4) ජලය 25 *l*ක් දැමිය හැකි බැරලයක තිබෙන ජල ප්‍රමාණය 16 *l* 500 mlකි. බැරලය සම්පූර්ණයෙන් පිරවීමට තව කොපමණ ජල ප්‍රමාණයක් දැමිය යුතු ද?

# 14 බර මැනීම - 1

බර මැනීම සඳහා විවිධ තරාදි භාවිත වේ.



තැටි තරාදිය



දුනු තරාදිය



මුළුතැන් ගෙහි භාවිත වන තරාදිය



ඉලෙක්ට්‍රොනික තරාදිය



බිම් තරාදිය

1 ගුරුතුමා / ගුරුතුමිය විසින් විවිධ ප්‍රමාණයෙන් වැලි පුරවන ලද පාර්සල් 4ක් ඔබට ලබා දෙනු ඇත. එම පාර්සල් A, B, C, D ලෙස ලේබල් කරන්න. එක් එක් පාර්සලයේ බර නිමානය කරන්න. තරාදියක් භාවිත කර එම නිමාන නිවැරදි දැයි බලන්න. ඒ අනුව පහත වගුව සම්පූර්ණ කරන්න.

| පාර්සලය | සිතූ බර (නිමානය කළ බර) | සැබෑ බර |
|---|---|---|
| A | ............................ | ............................ |
| B | ............................ | ............................ |
| C | ............................ | ............................ |
| D | ............................ | ............................ |

2 එක් එක් තරාදියේ ඇති ද්‍රව්‍යයේ බර ලියන්න.

(1)




අර්තාපල්වල බර = ..................................

(2)




ඇපල් ගෙඩිවල බර = ......................................

(3)




පත්තර මිටියේ බර = .....................................

**3** පිළිතුරු සපයන්න.

**උදාහරණය 1**

| | kg | g |
|---|---|---|
| | 5 | 500 |
| + | 3 | 750 |
| | 9 | 250 |

**උදාහරණය 2**

| | kg | g |
|---|---|---|
| | 8 | 75 |
| + | 2 | 51 |
| | 10 | 126 |

(1)

| | kg | g |
|---|---|---|
| | 3 | 225 |
| + | 1 | 190 |
| | | |

(2)

| | kg | g |
|---|---|---|
| | 25 | 900 |
| + | 45 | 500 |
| | | |

(3)

| | kg | g |
|---|---|---|
| | 52 | 500 |
| + | 33 | 500 |
| | | |

(4)

| | kg | g |
|---|---|---|
| | 4 | 250 |
| + | 5 | 825 |
| | | |

(5)

| | kg | g |
|---|---|---|
| | 11 | 750 |
| + | 13 | 250 |
| | | |

(6)

| | kg | g |
|---|---|---|
| | 5 | 50 |
| + | 3 | 50 |
| | | |

**4** වගන්ති ලියා විසඳන්න.

**උදාහරණය**

සුමුදු මිල දී ගත් කොමඩු ගෙඩියේ බර 1 kg 800 gකි. කමනි මිල දී ගත් කොමඩු ගෙඩියේ බර 1 kg 750 gකි. දෙදෙනා ම මිල දී ගත් කොමඩු ගෙඩිවල මුළු බර කොපමණ ද?

| | | kg | g |
|---|---|---|---|
| සුමුදු මිල දී ගත් කොමඩු ගෙඩියේ බර | = | 1 | 800 |
| කමනි මිල දී ගත් කොමඩු ගෙඩියේ බර | = | 1 | 750 |
| කොමඩු ගෙඩි දෙකේ ම මුළු බර | = | 3 | 550 |

කොමඩු ගෙඩිවල මුළු බර 3 kg 550 gක් වේ.





(1) එක් සහල් මල්ලක බර 5 kg 500 gකි. අනෙක් සහල් මල්ලේ බර 8 kg 750 gකි. සහල් මලු දෙකේ මුළු බර කොපමණ ද?

(2) ගෝනියක තිබූ තේ දළුවල බර 21 kg 250 gකි. එයට තව තේ දළු 17 kg 750 gක් එකතු කරන ලදි. දැන් ගෝනියේ ඇති තේ දළුවල මුළු බර කොපමණ ද?

(3) එක් කෙසෙල් ඇවරියක බර 2 kg 850 gකි. තවත් කෙසෙල් ඇවරියක බර 1 kg 300 gකි. කෙසෙල් ඇවරි දෙකේ මුළු බර කොපමණ ද?

(4) වෙළෙන්දෙක් තමන් මිල දී ගත් ගම්මිරිස් 12 kg 750 gකට ගෙවත්තෙන් ලබා ගත් ගම්මිරිස් 2 kg 500 gක් එකතු කළේ ය. වෙළෙන්දා ළඟ ඇති ගම්මිරිස්වල මුළු බර කොපමණ ද?

**5** විසඳන්න.

**උදාහරණය**

| | kg | g |
|---|---|---|
| | 4 | 350 |
| − | 1 | 750 |
| | 2 | 600 |

(1)

| | kg | g |
|---|---|---|
| | 12 | 840 |
| − | 4 | 510 |
| | | |

(2)

| | kg | g |
|---|---|---|
| | 6 | 320 |
| − | 2 | 150 |
| | | |

(3)

| | kg | g |
|---|---|---|
| | 15 | 400 |
| − | 9 | 500 |
| | | |

(4)

| | kg | g |
|---|---|---|
| | 39 | 670 |
| − | 23 | 765 |
| | | |



⑥ වගන්ති ලියා විසඳන්න.

**උදාහරණය**

වට්ටක්කා ගෙඩියක බර 4 kg 200 gකි. ඉන් කොටසක් කපා විකුණූ පසු ඉතුරු කොටසේ බර 2 kg 90 gකි. විකුණූ කොටසේ බර කොපමණ ද?

| | | kg | g |
|---|---|---|---|
| වට්ටක්කා ගෙඩියේ බර | = | 4 | 200 |
| ඉතුරු කොටසේ බර | = | 2 | 090 |
| විකුණූ කොටසේ බර | = | 2 | 110 |

විකුණූ කොටසේ බර 2 kg 110 gක් වේ.

(1) වෙළෙන්දෙක් බතල 65 kg 700 gකින් බතල 31 kg 800 gක් විකුණුවේ ය. ඉතුරු බතල ප්‍රමාණයේ බර කොපමණ ද?

(2) අයියාගේ බර 46 kg 250 gකි. මල්ලීගේ බර 32 kg 500 gකි. අයියා මල්ලීට වඩා කොපමණ බරින් වැඩි ද?

(3) විකිණීම සඳහා 50 kgක් බැගින් පත්තර මිටි බඳිනු ලැබේ. පත්තර ගොඩක බර 42 kg 750 gකි. පත්තර මිටියක් සෑදීම සඳහා තව කොතරම් බර ප්‍රමාණයක පත්තර අවශ්‍ය වේ ද?

(4) වෙළෙන්දෙක් සිරිල්ගෙන් රාබු 20 kg 250 gක් ද, ගුණපාලගෙන් රාබු 15 kg 750 gක් ද මිල දී ගත්තේ ය. ගුණපාලට වඩා සිරිල්ගෙන් මිල දී ගත් රාබුවල බර කොපමණ ද?

# 15 ගැටලු විසඳීම - 1

1 විසඳන්න.

**උදාහරණය**

පත්තර වෙළෙන්දෙක් එක ම වර්ගයේ පත්තර සෙනසුරාදා දිනයේ 785ක් ද, ඉරිදා දිනයේ 516ක් ද විකුණුවේ ය. වෙළෙන්දා දින දෙකේ දී ම විකුණූ මුළු පත්තර ගණන කීය ද?

$$\begin{array}{r} 785 \\ +\ 516 \\ \hline 1301 \\ \hline\hline \end{array}$$

දින දෙකේ දී ම විකුණූ මුළු පත්තර ගණන = 1301

(1) ගබඩාවක වී කිලෝග්රෑම් 4675ක් ඇත. තවත් වී කිලෝග්රෑම් 1430ක් එහි ගබඩා කරන ලදි. දැන් ගබඩාවේ ඇති මුළු වී ප්‍රමාණය කොපමණ ද?

(2) සීගිරිය නැරඹීමට එක්තරා සති අන්තයක සෙනසුරාදා දින පැමිණි සංචාරකයින් සංඛ්‍යාව 3515ක් විය. ඉරිදා දින පැමිණි සංචාරකයින් සංඛ්‍යාව 2987ක් විය. එම සති අන්තයේ පැමිණි මුළු සංචාරකයින් ගණන කොපමණ ද?

(3) විදුලි කේතලයක මිල රුපියල් 4750ක් ලෙස සටහන් කර ඇත. මිල වෙනස්වීමක දී එහි මිල රුපියල් 275කින් වැඩි විය. විදුලි කේතලයේ නව මිල කීය ද?

(4) සම්පූර්ණයෙන් පිරී තිබූ ජල ටැංකියකින් ජලය 2725 *l*ක් බෙදා හැර ඇත. ටැංකියේ ඉතුරුවී ඇති ජලය ප්‍රමාණය 3075 *l*කි. ටැංකියේ මුලින් තිබූ ජලය ප්‍රමාණය කොපමණ ද?

2 විසඳන්න.

**උදාහරණය**

වහලයක් සම්පූර්ණයෙන් සෙවිලි කිරීමට උළු කැට 3465ක් අවශ්‍ය වේ. උළු කැට 2500ක් ගෙනැවිත් ඇත. වහලය සම්පූර්ණයෙන් සෙවිලි කිරීමට තව උළු කැට කොපමණ ප්‍රමාණයක් අවශ්‍ය ද?

$$\begin{array}{r} 3465 \\ -\ 2500 \\ \hline 965 \\ \hline\hline \end{array}$$

අවශ්‍ය උළු කැට ප්‍රමාණය = 965

(1) කුඹුරකට ජලය ගෙනයාමට 1250 mක් දිග වේල්ලක් බැඳිය යුතු වේ. වේල්ල සම්පූර්ණයෙන් බැඳ නිම කිරීමට තව 645 mක ප්‍රමාණයක් ඉතුරුව ඇත. වේල්ලේ වැඩ නිම කර ඇති කොටසේ දිග කොපමණ ද?

(2) ලොරියකට ගඩොල් කැට 2750ක් පටවා ඇත. ට්‍රැක්ටරයකට ගඩොල් කැට 1275ක් පටවා ඇත. ට්‍රැක්ටරයට වඩා ලොරියට පටවා ඇති ගඩොල් කැට ප්‍රමාණය කොපමණ ද?

(3) නාට්‍ය දර්ශනයක් පවත්වන ශාලාවක පුටු 1750ක් තබා ඇත. නාට්‍ය දර්ශනය නැරඹීමට අසුන් ගෙන සිටින පිරිස 987ක් වේ. තව කී දෙනෙකුට අසුන් ගැනීමට පුටු ඉතුරුව තිබේ ද?

(4) පාපැදියක මිල රුපියල් 5750කි. නිමල් ළඟ ඇති මුදල රුපියල් 3825කි. පාපැදිය මිල දී ගැනීමට ඔහුට තව කොපමණ මුදලක් අවශ්‍ය ද?

(5) ඇස් කණ්ණාඩි 3985කින් ඇස් කණ්ණාඩි 2394ක් බෙදා දෙන ලදි. ඉතුරු වූ ඇස් කණ්ණාඩි ගණන කීය ද?

3 විසඳන්න.

**උදාහරණය**

පොත් වෙළෙඳසලක පළමු දිනයේ දී අභ්‍යාස පොත් 290 ක් ද, දෙවන දිනයේ දී 460 ක් ද, තුන්වන දිනයේ දී 570 ක් ද විකුණා ඇත. මුල් දින දෙකේ විකුණන ලද පොත් ගණන තුන්වන දිනයේ විකුණන ලද පොත් ගණනට වඩා කොපමණ වැඩි ද?

පියවර 1

$$\begin{array}{r} 290 \\ +\ 460 \\ \hline 750 \\ \hline\hline \end{array}$$

පියවර 2

$$\begin{array}{r} 750 \\ -\ 570 \\ \hline 180 \\ \hline\hline \end{array}$$

පිළිතුර - අභ්‍යාස පොත් 180ක් වැඩියෙන් විකුණා ඇත.



(1) කසුන් අඹ ගෙඩි 400ක් ද මාලනී අඹ ගෙඩි 350ක් ද කුමාර අඹ ගෙඩි 560ක් ද මිලට ගත්හ. කසුන් හා මාලනී මිල දී ගත් මුළු අඹ ගෙඩි ගණනට සමාන වීමට කුමාර තව අඹ ගෙඩි කොපමණ සංඛ්‍යාවක් මිල දී ගත යුතු ද?

(2) දුම්රියක මගීහු 750ක් සිටියහ. පළමු නැවතුමේ දී මගීන් 125ක් බැසගිය අතර, තවත් මගීහු 290ක් දුම්රියට ගොඩ වූහ. දැන් දුම්රියේ සිටින මුළු මගීන් ගණන කොපමණ ද?

(3) ජලය 350 *l*ක් දැමිය හැකි ටැංකියකට වාර දෙකක දී ජලය 50 *l*ක් හා 95 *l*ක් බැගින් දමා ඇත. ටැංකියට තව ජලය කොපමණ දැමිය හැකි ද?

(4) ක්‍රීඩා තරගයක දී නිවාස තුනක් ලබා ගත් ලකුණු වගුවේ දැක්වේ. මයුර හා කෝකිල නිවාස ලබා ගත් ලකුණුවල මුළු එකතුව පරෙවි නිවාසය ලබා ගත් ලකුණුවලට වඩා කොපමණ වැඩි ද?

| නිවාසය | ලබා ගත් ලකුණු |
|---|---|
| මයුර | 693 |
| කෝකිල | 597 |
| පරෙවි | 765 |

(5) සුමුදු 750 gක් බර වට්ටක්කා ගෙඩියක් කැබලි තුනකට කැපුවා ය. ඉන් කැබලි දෙකක බර 290 gක් හා 270 gක් වේ. ඉතුරු කැබැල්ලේ බර කොපමණ ද?

(6) වතු තුනකින් කඩන ලද පොල්ගෙඩි ගණන පිළිවෙළින් 1500, 1445 හා 2550ක් වේ. පළමුවන හා දෙවන වතුවලින් කඩන ලද මුළු පොල් ගෙඩි ගණන තුන්වන වත්තෙන් කඩන ලද පොල්ගෙඩි ගණනට වඩා කොපමණ වැඩි ද?

# 16 හැඩ හා ඝන වස්තු

1 පහත වගුව සම්පූර්ණ කරන්න.




| ඝන වස්තුව | ඝන වස්තුවේ හැඩය දැකිය හැකි රූපවල අංක |
|---|---|
| ඝනකය | |
| ඝනකාභය | |
| චතුස්තලය | |
| සිලින්ඩරය | |

## ඝන වස්තුවල ලක්ෂණ හඳුනා ගනිමු.

### සනකාභය






සනකාභයකට,

මුහුණත් 6කි.

දාර 12කි.

ශීර්ෂ 8කි.

### සිලින්ඩරය





සිලින්ඩරයකට,

මුහුණත් 2කි.

වක්‍ර දාර 2කි.

2. ඝන වස්තුවල ලක්ෂණ ඇසුරෙන් වගුව පුරවන්න.

| ඝන වස්තුව | ඝන වස්තුවේ නම | දාර ගණන | මුහුණත් ගණන | ශීර්ෂ ගණන |
|---|---|---|---|---|
|  | | | | |
|  | | | | |
|  | | | | |

## ඝන වස්තුවල ආකෘති සාදමු.

### ඝනකය



- ඇමුණුම 1 රූපය කපා ඝන කඩදාසියක අලවා ගන්න.
- කඩඉරි දිගේ ඝනකයක් සෑදෙන සේ නමන්න.
- පාට කළ කොටස් ඇතුළට නමා අලවා ගන්න.

### ඝනකාභය



- ඇමුණුම 2 රූපය කපා ඝන කඩදාසියක අලවා ගන්න.
- කඩඉරි දිගේ ඝනකාභයක් සෑදෙන සේ නමන්න.
- පාට කළ කොටස් ඇතුළට නමා අලවා ගන්න.

### චතුස්තලය



- ඇමුණුම 3 රූපය කපා ඝන කඩදාසියක අලවා ගන්න.
- කඩඉරි දිගේ චතුස්තලයක් සෑදෙන සේ නමන්න.
- පාට කළ කොටස් ඇතුළට නමා අලවා ගන්න.

### සිලින්ඩරය



- ඇමුණුම 4 රූපය කපා ඝන කඩදාසියක අලවා ගන්න.
- A, B, C කොටස් තුන වෙන වෙන ම කපා ගන්න.
- ඒවා භාවිත කර සිලින්ඩරය සකසා ගන්න.

3 ඝනකයක් සෑදිය හැකි පතොරම් මොනවා දැයි තෝරා ඒවායේ අංකය ලියන්න.




4 ඝනකාභයක් සෑදිය හැකි පතොරම් මොනවා දැයි තෝරා ඒවායේ අංකය ලියන්න.



5 වගුව සම්පූර්ණ කරන්න.

| ඝන වස්තුව | සමචතුරස්‍රාකාර මුහුණත් ගණන | සෘජුකෝණාස්‍රාකාර මුහුණත් ගණන | ත්‍රිකෝණාකාර මුහුණත් ගණන | වෘත්තාකාර මුහුණත් ගණන |
|---|---|---|---|---|
|  චතුස්තලය | | | | |
|  ඝනකාභය | | | | |
|  ඝනකය | | | | |
|  සිලින්ඩරය | | | | |

## තිරස් තලය හා සිරස් තලය හඳුනා ගනිමු.




බිත්තිය සිරස් වේ.

ගෙබිම තිරස් වේ.

ස්ප්‍රීතු ලෙවලය, තලයක තිරස් බව හඳුනා ගැනීමට භාවිත කරන උපකරණයකි.



ස්ප්‍රීතු ලෙවලය



මේසයක් මත තැබූ ස්ප්‍රීතු ලෙවලය

ලඹය, තලයක සිරස් බව හඳුනා ගැනීමට භාවිත කරන උපකරණයකි.



ලඹය



බිත්තියක සිරස් බව මැනීම

# 17 දත්ත හැසිරවීම - 1

1 පැයක් තුළ ආපණ ශාලාවක අලෙවි වූ රසකැවිලි වර්ග පිළිබඳ තොරතුරු පහත තීර ප්‍රස්තාරයේ දැක්වේ. ඒ ඇසුරින් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

ආපණ ශාලාවක අලෙවි වී ඇති රසකැවිලි




(1) වැඩිපුර ම අලෙවි වී ඇති කැවිලි වර්ගය කුමක් ද?

(2) අලෙවි වී ඇති කොකිස් ගණන කීය ද?

(3) සමාන ප්‍රමාණ අලෙවි වී ඇති කැවිලි වර්ග මොනවා ද?

(4) කැවුම් ගණනට වඩා පැණිවළලු කීයක් වැඩිපුර අලෙවි වී තිබේ ද?

2 රථගාලකට පැයක දී ඇතුළු වූ වාහන පිළිබඳ තොරතුරු පහත දැක්වේ. එම තොරතුරු තීර ප්‍රස්තාරයක දක්වන්න.

| වාහන වර්ගය | වාහන ගණන |
|---|---|
| මෝටර් රථ | 7 |
| යතුරුපැදි | 10 |
| වෑන් රථ | 5 |
| ත්‍රිරෝද රථ | 12 |

එක්තරා දිනක දී පලතුරු වෙළෙඳසලකින් විකුණන ලද පලතුරු වර්ග පිළිබඳ විමසා එම තොරතුරු පහත ආකාරයට වගුවක සටහන් කරගන්නා ලදි.

| පලතුරු වර්ගය | ගෙඩි ගණන |
|---|---|
| දිවුල් | 10 |
| අන්නාසි | 14 |
| අඹ | 16 |
| දොඩම් | 10 |
| කොමඩු | 12 |
| පැපොල් | 7 |

මෙම තොරතුරු ප්‍රස්තාර ගත කිරීමේ දී ඇඳීමේ පහසුව සඳහා තීර ප්‍රස්තාරයේ එක් කොටුවකින් ගෙඩි 2ක් නිරූපණය කරමු.

වෙළෙඳසලක විකුණන ලද පලතුරු




(1) එදින වැඩි ම අලෙවියක් වී ඇති පලතුරු වර්ගය කුමක් ද? අඹ

(2) අඩු ම අලෙවියක් වී ඇති පලතුරු වර්ගය කුමක් ද? පැපොල්

(3) සමාන ප්‍රමාණයක් අලෙවි වී ඇති පලතුරු වර්ග දෙක මොනවා ද?
දිවුල් සහ දොඩම්

3 පන්ති පුස්තකාලයක ඇති පොත් වර්ග පිළිබඳ තොරතුරු වගුවේ දැක්වේ.

| පොත් වර්ගය | පොත් ගණන |
|---|---|
| ළමා කතා | 22 |
| ළමා ගීත | 19 |
| චරිත කතා | 20 |
| උපමා කතා | 12 |
| ජන කතා | 16 |

අභ්‍යාස පොතේ එක කොටුවකින් පොත් 2ක් නිරූපණය වන සේ ඉහත තොරතුරු තීර ප්‍රස්තාරයක දක්වන්න.

4 සිසුන් කණ්ඩායමකින්, තමන් වඩාත් ම කැමති ආහාර වර්ගය පිළිබඳ ලබා ගත් තොරතුරු පහත තීර ප්‍රස්තාරයෙන් දැක්වේ.




(1) අඩු ම සිසුන් ගණනක් කැමති ආහාර වර්ගය කුමක් ද?

(2) වැඩි ම සිසුන් ගණනක් කැමති ආහාර වර්ගය කුමක් ද? එම සිසුන් ප්‍රමාණය කොපමණ ද?

(3) සිසුන් සමාන ප්‍රමාණයක් කැමති ආහාර වර්ග දෙක මොනවා ද?

**5** පැළ තවානක ඇති පැළ වර්ග කිහිපයක් පිළිබඳ තොරතුරු වගුවේ දැක්වේ.

| පැළ වර්ගය | පැළ ගණන |
|---|---|
| අඹ | 45 |
| මිරිස් | 60 |
| දෙහි | 50 |
| බටු | 30 |
| තක්කාලි | 45 |

(1) අභ්‍යාස පොතේ එක කොටුවකින් පැළ 5ක් දැක්වෙන සේ ඉහත තොරතුරු තීර ප්‍රස්තාරයක දක්වන්න.

(2) තීර ප්‍රස්තාරයේ නිරූපිත තොරතුරු විස්තර වන වගන්ති 5ක් ලියන්න.

**6** සිසුන්ට ක්‍රීඩා කිරීමට ගෙනෙන ලද වර්ණ තුනක බෝල පිළිබඳ තොරතුරු වගුවේ දැක්වේ.

| බෝලයේ වර්ණය | බෝල ගණන |
|---|---|
| කහ | 30 |
| රතු | 10 |
| නිල් | 20 |

අභ්‍යාස පොතේ එක් කොටුවකින් නිරූපණය වන බෝල ගණන සුදුසු පරිදි තෝරාගෙන ඉහත තොරතුරු තීර ප්‍රස්තාරයක දක්වන්න.

# 18 දශම

## දශම සංඛ්‍යා හඳුනා ගනිමු.

- පහත කඩදාසි තීරුව සමාන කොටස් 10කට බෙදා එයින් එක කොටසක් පාට කර තිබේ. පාට කළ කොටසින් දැක්වෙන්නේ කඩදාසි තීරුවෙන් දහයෙන් පංගු එකකි. එය $\frac{1}{10}$ ලෙස ලියනු ලැබේ.



$\frac{1}{10}$ තවත් ආකාරයකට දැක්විය හැකි ය. එනම්, දශම සංඛ්‍යාවක් ලෙස 0.1 ආකාරයට ය. එය **බින්දුවයි දශම එක** ලෙස කියවනු ලැබේ.

$$\frac{1}{10} = 0.1$$

### උදාහරණය

රූපයේ පාට කළ ප්‍රමාණය දශම සංඛ්‍යාවක් ලෙස ලියමු.

(1)



පාට කළ ප්‍රමාණය කඩදාසි තීරුවෙන් $\frac{2}{10}$ කි.

$\frac{2}{10} = 0.2$

(2)



පාට කළ ප්‍රමාණය කඩදාසි තීරුවෙන් $\frac{3}{10}$ කි.

$\frac{3}{10} = 0.3$

**1**



(1) ඉහත රූපය සමාන කොටස් කීයකට බෙදා තිබේ ද?
(2) එහි පාට කළ කොටස් ගණන කීය ද?
(3) (i) පාට කළ ප්‍රමාණය මුළු රූපයෙන් භාගයක් ලෙස ලියන්න.
(ii) එම භාගය, දශම සංඛ්‍යාවක් ලෙස ලියන්න.





2 එක් එක් රූපයේ පාට කළ ප්‍රමාණය දශම සංඛ්‍යාවක් ලෙස ලියන්න.

**උදාහරණය**



0.6

(1)



.................................

(2)



.................................

(3)



.................................

(4)



.................................

(5)



.................................

(6)



.................................

3 එක් එක් භාගය, දශම සංඛ්‍යාවක් ලෙස ලියන්න.

උදාහරණය : $\frac{4}{10} = 0.4$

(1) $\frac{5}{10}$ (2) $\frac{2}{10}$ (3) $\frac{8}{10}$

4 එක් එක් දශම සංඛ්‍යාව, භාගයක් ලෙස ලියන්න.

උදාහරණය : $0.6 = \frac{6}{10}$

(1) 0.7 (2) 0.9 (3) 0.3

5 වගුව සම්පූර්ණ කරන්න.

| රූපික නිරූපණය | දශම සංඛ්‍යාව | කියවන ආකාරය |
|---|---|---|
|  | 0.2 | බින්දුවයි දශම දෙක |
|  | 0.5 | ............................................ |
|  | .................... | ............................................ |
|  | .................... | බින්දුවයි දශම තුන |
|  | 0.6 | ............................................ |

# 19 දිග හා දුර - 2



මීටර 1 = සෙන්ටිමීටර 100

1 m = 100 cm

**1** පිටපත් කරගෙන පිළිතුරු සපයන්න.

**උදාහරණය 1**

| | m | cm |
|---|---|---|
| | 38 | 50 |
| + | 13 | 70 |
| | 52 | 20 |

**උදාහරණය 2**

| | m | cm |
|---|---|---|
| | 16 | 25 |
| – | 7 | 50 |
| | 8 | 75 |

(1)

| | m | cm |
|---|---|---|
| | 41 | 35 |
| + | 12 | 15 |

(2)

| | m | cm |
|---|---|---|
| | 33 | 44 |
| + | 91 | 61 |

(3)

| | m | cm |
|---|---|---|
| | 73 | 51 |
| + | 21 | 49 |

(4)

| | m | cm |
|---|---|---|
| | 85 | 53 |
| – | 11 | 52 |

(5)

| | m | cm |
|---|---|---|
| | 47 | 36 |
| – | 31 | 54 |

(6)

| | m | cm |
|---|---|---|
| | 67 | 72 |
| – | 18 | 34 |



2 වගන්ති ලියා විසඳන්න.

**උදාහරණය 1**

බිත්ති සැරසිල්ලක් සඳහා කහපාට රිබන් 8 m 50 cmක් ද රතුපාට රිබන් 5 m 80 cm ප්‍රමාණයක් ද අවශ්‍ය වේ. සැරසිල්ලට අවශ්‍ය රිබන්වල මුළු දිග කොපමණ ද?

| | | m | cm |
|---|---|---|---|
| කහ රිබන්වල දිග | = | 8 | 50 |
| රතු රිබන්වල දිග | = | 5 | 80 |
| රිබන්වල මුළු දිග | = | 14 | 30 |

**උදාහරණය 2**

ශාලාවක දිග 12 m 25 cmක් ද පළල 8 m 50 cmක් ද වේ. ශාලාවේ දිග හා පළල අතර වෙනස කොපමණ ද?

| | | m | cm |
|---|---|---|---|
| ශාලාවේ දිග | = | 12 | 25 |
| ශාලාවේ පළල | = | 8 | 50 |
| ශාලාවේ දිග හා පළල අතර වෙනස | = | 3 | 75 |

(1) ගවුම් මැසීම සඳහා අක්කාට රෙදි 2 m 25 cmක් ද නංගීට 1 m 50 cm ප්‍රමාණයක් ද අවශ්‍ය වේ. ගවුම් මැසීමට අවශ්‍ය රෙදිවල මුළු දිග ප්‍රමාණය කොපමණ ද?

(2) පෙදරේරුවෙක් පළමුවන දිනයේ දී තාප්පයක 5 m 75 cmක දිගක් බැන්දේ ය. ඔහු දෙවන දිනයේ දී තවත් 4 m 25 cmක දිගක් බැන්දේ ය. දෙවන දිනය අවසාන වන විට තාප්පයේ බඳින ලද මුළු දිග කොපමණ ද?

(3) ගොවියෙකුට පළමුවන ගොවිපළේ වැට සැකසීම සඳහා 30 m 80 cmක දිග ප්‍රමාණයක කම්බි අවශ්‍ය වේ. දෙවන ගොවිපළේ වැට සැකසීම සඳහා 50 m 30 cmක දිග ප්‍රමාණයක කම්බි අවශ්‍ය වේ. ගොවිපළවල් දෙකේ ම වැට සැකසීම සඳහා අවශ්‍ය වන කම්බිවල මුළු දිග කොපමණ ද?

(4) 8 m 20 cmක් දිග ලණුවකින් රෙදි වැලක් බැඳීමෙන් පසුව 2 m 80 cmක දිග ප්‍රමාණයක් ඉතුරු විය. රෙදිවැල බැඳීමට ගන්නා ලද ලණුවේ දිග කොපමණ ද?

(5) දිග 5 m 80 cmක් වූ මල් පාත්තියක් නැවත සකස් කළ විට එහි දිග 8 m 50 cmක් විය. මල් පාත්තියේ වැඩි වූ දිග කොපමණ ද?

(6) දුර පැනීමේ තරගයක දී භාගයා 2 m 15 cmක දුරක් ද නසීමා 1 m 85 cmක දුරක් ද පැන්නෝ ය. නසීමාට වඩා භාගයා කොපමණ දුරක් පැන තිබේ ද?

**3** ගුණ කරන්න.

**උදාහරණය**

| | m | cm |
|---|---|---|
| | 40 | 75 |
| × | | 4 |
| | 163 | 00 |

(1)

| | m | cm |
|---|---|---|
| | 2 | 10 |
| × | | 2 |
| | | |

(2)

| | m | cm |
|---|---|---|
| | 13 | 41 |
| × | | 3 |
| | | |

(3)

| | m | cm |
|---|---|---|
| | 24 | 20 |
| × | | 4 |
| | | |

(4)

| | m | cm |
|---|---|---|
| | 132 | 22 |
| × | | 3 |
| | | |

(5)

| | m | cm |
|---|---|---|
| | 103 | 10 |
| × | | 5 |
| | | |

(6)

| | m | cm |
|---|---|---|
| | 191 | 25 |
| × | | 4 |
| | | |

**4** විසඳන්න.

**උදාහරණය**

වහලයක් අලුත්වැඩියා කිරීමට 1 m 50 cmක් දිග ලී දඬු හතරක් අවශ්‍ය වී ඇත. ඒ සඳහා අවශ්‍ය ලී දඬුවල මුළු දිග කොපමණ ද?

| | m | cm |
|---|---|---|
| | 1 | 50 |
| × | | 4 |
| | 6 | 00 |

ලී දඬුවල මුළු දිග = 6 m



(1) ක්‍රීඩාවක දී මල්ලි 1 m 30 cmක දුරක් පැන්නේ ය. අක්කා එමෙන් දෙගුණයක් දුර පැන්නේ නම් ඇය විසින් පනින ලද දුර කොපමණ ද?

(2) පුටුවකට කවර දැමීම සඳහා 2 m 25 cmක දිග රෙදි ප්‍රමාණයක් අවශ්‍ය වේ. එවැනි පුටු හතරකට කවර දැමීමට අවශ්‍ය රෙදිවල මුළු දිග කොපමණ ද?

(3) එක විදුලි බුබුළු වැලක දිග 5 m 50 cmකි. එවැනි විදුලි බුබුළු වැල් තුනක මුළු දිග කොපමණ ද?

(4) සමාන දිගින් යුතු කම්බි පොටවල් පහක් සහිත වැටක් ඇත. එක් කම්බි පොටක දිග 250 m 20 cmක් වේ. කම්බි පොටවල් පහේ ම මුළු දිග කොපමණ ද?

**5** බෙදන්න.

**උදාහරණය**

| | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | | | | | | | | | |
| | | | 4 | 0 | m | | 2 | 1 | cm | |
| | 3 | 1 | 2 | 0 | m | | 6 | 3 | cm | |
| | | 1 | 2 | | | | | | | |
| | | | 0 | 0 | | | | | | |
| | | | | 0 | | | | | | |
| | | | | 0 | | | 6 | | | |
| | | | | | | | 6 | | | |
| | | | | | | | 0 | 3 | | |
| | | | | | | | | 3 | | |
| | | | | | | | | 0 | | |
| | | | | | | | | | | |

පිළිතුර 40 m 21 cm

(1) $2\overline{)6\text{ m}\quad 36\text{ cm}}$ (2) $5\overline{)75\text{ m}\quad 15\text{ cm}}$ (3) $4\overline{)64\text{ m}\quad 36\text{ cm}}$

(4) $4\overline{)128\text{ m}\quad 36\text{ cm}}$ (5) $3\overline{)201\text{ m}\quad 51\text{ cm}}$

6 විසඳන්න.

**උදාහරණය**

අම්මා 8 m 80 cmක් දිග රෙද්දක් ගෙන ආවා ය. දොර රෙදි මැසීම සඳහා ඇය එය සමාන දිගින් යුතු කැබලි හතරකට කැපුවා ය. එක් කැබැල්ලක දිග කොපමණ ද?

```
     2 m  20 cm
   ┌────────────
 4 │8 m   80 cm
   │8
   └──
    0      8
           8
          ──
          00
           0
          ──
           0
```

එක් රෙදි කැබැල්ලක දිග = 2 m 20 cm

(1) 15 m 75 cmක් දිග කම්බියක් සමාන කැබලි පහකට කපන ලදි. එක් කම්බි කැබැල්ලක දිග කොපමණ ද?

(2) මේසයක දිග එහි පළල මෙන් දෙගුණයකි. එහි දිග 4 m 60 cmක් වේ. මේසයේ පළල කොපමණ ද?

(3) 16 m 48 cmක් දිග ඉටි රෙද්දක් මේසවලට දැමීම සඳහා සමාන දිගින් යුතු කැබලි හතරකට කපන ලදි. එක් කැබැල්ලක දිග කොපමණ ද?

(4) දැන්වීම් පුවරුවක දිග 6 m 45 cmකි. මෙම දැන්වීම් පුවරුවෙහි දිග, පළල මෙන් තුන් ගුණයකි. දැන්වීම් පුවරුවේ පළල කොපමණ ද?



# 20 මුදල් - 2

**1** පිළිතුරු ලියන්න.

P නගරයේ සිට වෙනත් නගර කිහිපයකට යාමට වැඩිහිටි ප්‍රවේශපත්‍රයක් සඳහා ගෙවිය යුතු මුදල පහත දැක්වේ.

| නගරය | වැඩිහිටි ප්‍රවේශපත්‍රයක මිල | |
|---|---|---|
| | රුපියල් | සත |
| A | 14 | 00 |
| B | 24 | 00 |
| C | 38 | 00 |
| D | 66 | 00 |

(වැඩිහිටි ගාස්තුවෙන් බාගයක් ළමා ටිකට්පතක් සඳහා ගෙවිය යුතු ය.)

**උදාහරණය**

P නගරයේ සිට B නගරයට යාමට වැඩිහිටි 5 දෙනෙක් ද ළමයි 3 දෙනෙක් ද බස් රථයට ගොඩ වූහ.

(i) වැඩිහිටි ප්‍රවේශපත්‍ර 5 සඳහා ගෙවිය යුතු මුදල කොපමණ ද?
(ii) ළමා ප්‍රවේශපත්‍ර 3 සඳහා ගෙවිය යුතු මුදල කොපමණ ද?
(iii) ඔවුන් සියලු දෙනා ගෙවිය යුතු මුළු මුදල කොපමණ ද?

(i)

| | රුපියල් | සත |
|---|---|---|
| | 24 | 00 |
| × | | 5 |
| | 120 | 00 |

වැඩිහිටි ප්‍රවේශපත්‍ර 5 සඳහා ගෙවිය යුතු මුදල = රුපියල් 120

(ii) ළමා ප්‍රවේශපත්‍රයක මිල = රුපියල් 24 ÷ 2

= රුපියල් 12

| රුපියල් | සත |
|---|---|
| 12 | 00 |
| × | 3 |
| 36 | 00 |

ළමා ප්‍රවේශපත්‍ර 3 සඳහා ගෙවිය යුතු මුදල = රුපියල් 36

(iii)

| රුපියල් | සත |
|---|---|
| 120 | 00 |
| + 36 | 00 |
| 156 | 00 |

ප්‍රවේශපත්‍ර සඳහා ගෙවිය යුතු මුළු මුදල = රුපියල් 156

(1) P නගරයේ සිට D නගරයට යාමට වැඩිහිටියෝ හතර දෙනෙක් ද ළමයි දෙදෙනෙක් ද බසයට ගොඩවූහ. ඔවුහු සියලු දෙනා ම ගෙවිය යුතු මුළු බස් ගාස්තුව කොපමණ ද?

(2) P නගරයේ සිට C නගරයට යාමට වැඩිහිටියෝ පස්දෙනෙක් ද ළමයි හතර දෙනෙක් ද බස් රථයට ගොඩ වූහ. ඔවුහු සියලු දෙනා ම ගෙවිය යුතු මුළු බස් ගාස්තුව කොපමණ ද?

(3) වැඩිහිටියෝ 5 දෙනෙක් P නගරයේ සිට A නගරයට ගොස් නැවත P නගරයට පැමිණියේ නම්, ප්‍රවේශපත්‍ර සඳහා ඔවුන් ගෙවූ මුළු මුදල කොපමණ ද?

2 වෙළෙඳසලක තිබූ මිල දර්ශනයක් පහත දැක්වේ.

**මිල දර්ශනය**

| | |
|---|---|
| පෑනක් | රු. 12.00 |
| කතුරක් | රු. 55.00 |
| ගම් බෝතලයක් | රු. 80.00 |
| පාට පැන්සල් පෙට්ටියක් | රු. 98.00 |
| අඩි කෝදුවක් | රු. 30.00 |

(1) ඉහත මිල දර්ශනය බලා පහත බිල්පත් සම්පූර්ණ කරන්න.

(i)

| භාණ්ඩය | මිල දී ගත් ප්‍රමාණය | වටිනාකම | |
|---|---|---|---|
| | | රුපියල් | සත |
| පාට පැන්සල් පෙට්ටිය | 3 | ........... | ...... |
| ගම් බෝතලය | 2 | ........... | ...... |
| මුළු මුදල | | ........... | ...... |

(ii)

| භාණ්ඩය | මිල දී ගත් ප්‍රමාණය | වටිනාකම | |
|---|---|---|---|
| | | රුපියල් | සත |
| පෑන | 4 | ........... | ...... |
| අඩි කෝදුව | 3 | ........... | ...... |
| කතුර | 5 | ........... | ...... |
| මුළු මුදල | | ........... | ...... |

(2) බිල්පත සම්පූර්ණ කරන්න.

(i)

| භාණ්ඩය | මිල දී ගත් ප්‍රමාණය | එකක මිල රුපියල් | සත | වටිනාකම රුපියල් | සත |
|---|---|---|---|---|---|
| පෑන | 3 | 12 | 00 | ......... | ......... |
| අඩි කෝදුව | 4 | 30 | 00 | ......... | ......... |
| ගම් බෝතලය | 5 | 80 | 00 | ......... | ......... |
| මුළු මුදල | | | | ......... | ......... |

(ii)

| භාණ්ඩය | මිල දී ගත් ප්‍රමාණය | එකක මිල රුපියල් | සත | වටිනාකම රුපියල් | සත |
|---|---|---|---|---|---|
| කතුර | 3 | 55 | 00 | ......... | ......... |
| පාට පැන්සල් පෙට්ටිය | 5 | 98 | 00 | ......... | ......... |
| මුළු මුදල | | | | ......... | ......... |

3 වෙළෙඳසලක තිබූ මිල දර්ශනයක් පහත දැක්වේ. එය ඇසුරෙන් පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| ද්‍රව්‍යය | 1 kgක මිල | |
|---|---|---|
| | රුපියල් | සත |
| හාල්මැස්සන් | 900 | 00 |
| සහල් | 85 | 00 |
| මුංඇට | 220 | 00 |
| අර්තාපල් | 300 | 00 |
| කඩල | 260 | 00 |
| තේ කොළ | 920 | 00 |

(1) මිල දර්ශනය බලා බිල්පත සම්පූර්ණ කරන්න.

| ද්‍රව්‍යය | මිලට ගත් ප්‍රමාණය | 1 kgක මිල | | වටිනාකම | |
|---|---|---|---|---|---|
| | | රුපියල් | සත | රුපියල් | සත |
| සහල් | 2 kg | 85 | 00 | ............ | ....... |
| කඩල | 500 g | 260 | 00 | ............ | ....... |
| අර්තාපල් | 1 kg 500 g | 300 | 00 | ............ | ....... |
| මුළු මුදල | | | | ............ | ..... |

බිල්පත ගෙවීමට රුපියල් 800ක් දුන් විට ලැබෙන ඉතුරු මුදල කීය ද?

(2) අම්මා, මුංඇට 2 kgක් ද හාල්මැස්සන් 200 gක් ද තේ කොළ 250 gක් ද මිල දී ගත්තා ය. ඒ සඳහා බිල්පත සාදන්න. මෙම ද්‍රව්‍ය මිල දී ගැනීමේ දී රුපියල් 1000ක් දුන් විට ලැබෙන ඉතුරු මුදල සොයන්න.

# 21 ගුණ කිරීම - 2

## හයෙහි ගුණන වගුව ගොඩනගමු.



$1 \times 6 = 6$

එක් වරක් හය හයයි.



$6 + 6 = 12$

$2 \times 6 = 12$

දෙවරක් හය දොළහයි.



$6 + 6 + 6 = 18$

$3 \times 6 = 18$

තුන් වරක් හය දහඅටයි.



$6 + 6 + 6 + 6 = 24$

$4 \times 6 = 24$

හතර වරක් හය විසි හතරයි.



$6 + 6 + 6 + 6 + 6 = 30$

$5 \times 6 = 30$

පස් වරක් හය තිහයි.



$6 + 6 + 6 + 6 + 6 + 6 = 36$

$6 \times 6 = 36$

හය වරක් හය තිස් හයයි.



$6 + 6 + 6 + 6 + 6 + 6 + 6 = 42$

$7 \times 6 = 42$

හත් වරක් හය හතළිස් දෙකයි.



$6 + 6 + 6 + 6 + 6 + 6 + 6 + 6 = 48$

$8 \times 6 = 48$

අට වරක් හය හතළිස් අටයි.



$6 + 6 + 6 + 6 + 6 + 6 + 6 + 6 + 6 = 54$

$9 \times 6 = 54$

නව වරක් හය පනස් හතරයි.



$6 + 6 + 6 + 6 + 6 + 6 + 6 + 6 + 6 + 6 = 60$

$10 \times 6 = 60$

දහ වරක් හය හැටයි.

**1** හයෙහි ගුණන වගුව ඇසුරෙන් හිස්තැන් පුරවන්න.

| | |
|---|---|
| (1) 1 × .... = 6 | (6) .... × .... = 36 |
| (2) 2 × 6 = 12 | (7) 7 × .... = 42 |
| (3) .... × 6 = 18 | (8) .... × 6 = 48 |
| (4) 4 × .... = 24 | (9) 9 × 6 = ..... |
| (5) .... × 6 = 30 | (10) .... × .... = 60 |

## 6 න් ගුණ කරමු.

### උදාහරණය

| | | | | |
|---|---|---|---|---|
| | | | | |
| | | 4 | 2 | 3 |
| | × | | | 6 |
| | 2 | 5 | 3 | 8 |
| | | | | |

පිළිතුර ලැබෙන්නේ මෙහෙමයි.

| දා | සි | ද | ඒ | |
|---|---|---|---|---|
| | 4 | 2 | 3 | ← 400 + 20 + 3 |
| × | | | 6 | |
| | | 1 | 8 | ← පළමුව 3, 6න් ගුණ කර ඇත. |
| | 1 | 2 | 0 | ← දෙවනුව 20, 6න් ගුණ කර ඇත. |
| 2 | 4 | 0 | 0 | ← තෙවනුව 400, 6න් ගුණ කර ඇත. |
| 2 | 5 | 3 | 8 | ← ඊළඟට 18 ,120 හා 2400 එකතු කර ඇත. |

## 2 ගුණ කරන්න.

(1) $\begin{array}{r} 42 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(2) $\begin{array}{r} 35 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(3) $\begin{array}{r} 10 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(4) $\begin{array}{r} 69 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(5) $\begin{array}{r} 50 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(6) $\begin{array}{r} 87 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(7) $\begin{array}{r} 100 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(8) $\begin{array}{r} 904 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(9) $\begin{array}{r} 260 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(10) $\begin{array}{r} 781 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(11) $\begin{array}{r} 800 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

(12) $\begin{array}{r} 505 \\ \times \quad 6 \\ \hline \\ \hline \end{array}$

## 3 ගැටලු විසඳන්න.

(1) කණ්ඩායමකට ළමයින් හය දෙනා බැගින් කණ්ඩායම් 25ක සිටින ළමයින් සංඛ්‍යාව කීය ද?

(2) සරඹ සංදර්ශනයක එක් පෙළකට හයදෙනා බැගින් ළමයින් පේළි 32කි. සරඹ සංදර්ශනයේ සිටින ළමයින් ගණන කීය ද?

(3) එක පැකට්ටුවක කඩදාසි 125ක් ඇත. එවැනි කඩදාසි පැකට් හයක ඇති මුළු කඩදාසි ගණන කීය ද?

(4) එක් පෙට්ටියක පාට පැන්සල් හය බැගින් ඇත. එවැනි පෙට්ටි 206ක ඇති පාට පැන්සල් ගණන කීය ද?



## හතෙහි ගුණන වගුව ගොඩනගමු.



$1 \times 7 = 7$

එක් වරක් හත හතයි.



$7 + 7 = 14$

$2 \times 7 = 14$

දෙවරක් හත දාහතරයි.



$7 + 7 + 7 = 21$

$3 \times 7 = 21$

තුන් වරක් හත විසි එකයි.



$7 + 7 + 7 + 7 = 28$

$4 \times 7 = 28$

හතර වරක් හත විසි අටයි.



$7 + 7 + 7 + 7 + 7 = 35$

$5 \times 7 = 35$

පස් වරක් හත තිස් පහයි.



$7 + 7 + 7 + 7 + 7 + 7 = 42$

$6 \times 7 = 42$

හය වරක් හත හතළිස් දෙකයි.



$7 + 7 + 7 + 7 + 7 + 7 + 7 = 49$

$7 \times 7 = 49$

හත් වරක් හත හතළිස් නවයයි.



$7 + 7 + 7 + 7 + 7 + 7 + 7 + 7 = 56$

$8 \times 7 = 56$

අට වරක් හත පනස් හයයි.



$7 + 7 + 7 + 7 + 7 + 7 + 7 + 7 + 7 = 63$

$9 \times 7 = 63$

නව වරක් හත හැට තුනයි.



$7 + 7 + 7 + 7 + 7 + 7 + 7 + 7 + 7 + 7 = 70$

$10 \times 7 = 70$

දහ වරක් හත හැත්තෑවයි.

**4** හතෙහි ගුණන වගුව ඇසුරෙන් හිස්තැන් පුරවන්න.

| | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| (1) | .... | × | 7 | = | 7 | (6) | 6 | × | .... | = | 42 |
| (2) | 2 | × | .... | = | 14 | (7) | .... | × | 7 | = | 49 |
| (3) | 3 | × | .... | = | 21 | (8) | .... | × | .... | = | 56 |
| (4) | ..... | × | 7 | = | ..... | (9) | .... | × | 7 | = | .... |
| (5) | 5 | × | .... | = | 35 | (10) | .... | × | .... | = | 70 |

## 7 න් ගුණ කරමු.

**උදාහරණය**

| | | | | |
|---|---|---|---|---|
| | | 2 | 5 | 3 |
| | × | | | 7 |
| | 1 | 7 | 7 | 1 |

පිළිතුර ලැබෙන්නේ මෙහෙමයි.

| දා | සි | ද | ඒ | |
|---|---|---|---|---|
| | 2 | 5 | 3 | ← 200 + 50 + 3 |
| × | | | 7 | |
| | | 2 | 1 | ← පළමුව 3, 7න් ගුණ කර ඇත. |
| | 3 | 5 | 0 | ← දෙවනුව 50, 7න් ගුණ කර ඇත. |
| 1 | 4 | 0 | 0 | ← තෙවනුව 200, 7න් ගුණ කර ඇත. |
| 1 | 7 | 7 | 1 | ← ඊළඟට 21, 350 හා 1400 එකතු කර ඇත. |

**5** ගුණ කරන්න.

(1) 21 × 7

(2) 10 × 7

(3) 34 × 7

(4) 65 × 7

(5) 70 × 7

(6) 89 × 7

(7) 501 × 7

(8) 944 × 7

(9) 100 × 7

(10) 813 × 7

(11) 333 × 7

(12) 707 × 7

6 ප්‍රහේලිකාව සම්පූර්ණ කරන්න.




හරහට ⇨

(A) ත්‍රිරෝද රථ 7ක ඇති රෝද ගණන

(C) 204, 7න් ගුණ කළ විට ලැබෙන පිළිතුර

(E) 9, 7න් ගුණ කළ විට ලැබෙන පිළිතුර

පහළට ⇩

(A) 31, 7න් ගුණ කළ විට ලැබෙන පිළිතුර

(B) 27, 7න් ගුණ කළ විට ලැබෙන පිළිතුර

(D) 34, 7න් ගුණ කළ විට ලැබෙන පිළිතුර

7 ගැටලු විසඳන්න.

(1) සති 42ක ඇති දින ගණන සොයන්න.

(2) නේවාසිකාගාරයේ එක් කාමරයක සිසුන් හත් දෙනෙකුට නේවාසික විය හැකි ය. නේවාසිකාගාරයේ එවැනි කාමර 18ක් ඇත. එහි නේවාසික විය හැකි සිසුන් ගණන කීය ද?

(3) දැල්පන්දු කණ්ඩායමකට සිටින ක්‍රීඩිකාවන් ගණන හතකි. එවැනි කණ්ඩායම් 107ක සිටින මුළු දැල් පන්දු ක්‍රීඩිකාවන් ගණන කීය ද?

(4) ලොරියකින් එක් වරක දී ගඩොල් කැට 790ක් ගෙන යා හැකි ය. එවැනි ගමන් වාර හතක දී එම ලොරියෙන් ගෙන යා හැකි මුළු ගඩොල් කැට ගණන කීය ද?

# 22 කාලය - 2

## ගත වූ කාලය සොයමු.

### උදාහරණය 1

බස් රථයක් පෙ.ව. 3.45ට කුරුණෑගලින් ගමන් අරඹා පෙ.ව. 8.00ට කොළඹ කොටුවෙන් ගමන අවසන් කරයි. ගමන සඳහා ගත වූ කාලය කොපමණ ද?



ආරම්භ කළ වේලාව



අවසන් කළ වේලාව

ගමන අවසන් කළ වේලාව = පෙ.ව. 8.00

ගමන ආරම්භ කළ වේලාව = පෙ.ව. 3.45

| | පැය | මිනිත්තු |
|---|---|---|
| | ~~8~~ 7 | 00 |
| − | 3 | 45 |
| | 4 | 15 |

- පැය 1ක් මිනිත්තු තීරයට ගෙන එන ලදි. එවිට, මිනිත්තු 60යි, පැය තීරයේ 7යි.
- දැන් මිනිත්තු 60න්, මිනිත්තු 45ක් අඩු කළ විට, මිනිත්තු 15ක් ලැබේ.
- පැය 7න් පැය 3ක් අඩු කළ විට පැය 4ක් ලැබේ.

ගමනට ගත වූ කාලය පැය 4යි මිනිත්තු 15යි.

1. ගැටලු විසඳන්න.

(1) තාත්තා පෙ.ව. 6.45ට නිවසින් පිටත් වී පෙ.ව. 8.15ට කාර්යාලයට ගියේ ය. තාත්තාට කාර්යාලයට යාමට ගත වූ කාලය සොයන්න.

(2) අක්කා ප.ව. 2.45ට ගවුමක් මැසීමට පටන් ගෙන ප.ව. 5.30ට එය මසා අවසන් කළා ය. ගවුම මසා අවසන් කිරීමට ගත වූ කාලය කොපමණ ද?

(3) කාර්යාල දුම්රිය පෙ.ව. 4.50ට මහව දුම්රිය ස්ථානයෙන් ගමන් අරඹා පෙ.ව. 8.35ට කොළඹ කොටුවෙන් ගමන අවසන් කරයි. ගමන සඳහා ගත වූ කාලය කොපමණ ද?

### උදාහරණය 2

අම්මා පෙ.ව. 11.30ට ආහාර පිසීම ආරම්භ කළා ය. ඇය ප.ව. 1.10ට ආහාර පිසීම අවසන් කළා ය. අම්මාට ආහාර පිසීමට ගත වූ කාලය කොපමණ ද?

මෙහි ආරම්භක වේලාව පෙරවරු සහ අවසන් කළ වේලාව පස්වරු වේ. එබැවින් එම වේලාවල් දෙක අතර වෙනස සෙවීමට පළමුව ඒවා පැය 24 ඔරලෝසුවට අනුව ලියා ගනිමු.

ආහාර පිසීම ආරම්භ කළ වේලාව = පෙ.ව. 11.30
= 11:30
ආහාර පිසීම අවසන් කළ වේලාව = ප.ව. 1.10
= 13:10

| | පැය | මිනිත්තු |
|---|---|---|
| | 13 | 10 |
| − | 11 | 30 |
| | 1 | 40 |

ආහාර පිසීමට ගත වූ කාලය = පැය 1යි මිනිත්තු 40යි.

**2** ගැටලු විසඳන්න.

(1) පෙ.ව. 7.30ට පාසල ආරම්භ වී ප.ව. 1.30ට අවසන් වූයේ නම්, පාසල පැවැත්වූ කාලය කොපමණ ද?

(2) ක්‍රීඩා කණ්ඩායමක් පෙ.ව. 8.35ට තම පුහුණුවීම් කටයුතු ආරම්භ කරති. ඔවුහු ප.ව. 2.15ට පුහුණුවීම් අවසන් කරති. පුහුණුවීම් කටයුතු සඳහා ගත කළ කාලය සොයන්න.

(3) කුඹුරක ගොයම් කැපීම පෙ.ව. 8.45ට ආරම්භ වී ප.ව. 4.30 ට අවසන් විය. ගොයම් කැපීමට ගත වූ කාලය සොයන්න.

(4) ආගමික වැඩසටහනක් පෙ.ව. 9.30ට ආරම්භ කර ප.ව. 2.10ට අවසන් විය. එය පැවැත්වූ කාලය කොපමණ ද?

## වේලාව ගණනය කරමු.

### උදාහරණය 1

පෙ.ව. 4.20ට පාඩම් කිරීමට ආරම්භ කළ අයියා පැය 2යි මිනිත්තු 50කට පසු පාඩම් කිරීම අවසන් කළේ ය. පාඩම් කිරීම අවසන් කළ වේලාව කීය ද?

පාඩම් කිරීම ආරම්භ කළ වේලාව = පෙ.ව. 4.20
ගත වූ කාලය = පැය 2 මිනිත්තු 50

| | පැය | මිනිත්තු |
|---|---|---|
| | 4 | 20 |
| + | 2 | 50 |
| | 7 | 10 |

මිනිත්තු තීරයේ 20 හා 50 එකතු කළවිට, මිනිත්තු 70කි. එනම්, පැය 1ක් හා මිනිත්තු 10ක් ඇත. මිනිත්තු තීරයේ 10 ලියා පැය තීරයට, පැය 1 ගෙන යනු ලැබේ. එවිට, පැය තීරයේ, පැය 7ක් ලැබේ.

පාඩම් කිරීම අවසන් කළ වේලාව = පෙ.ව. 7.10

**3** ගැටලු විසඳන්න.

(1) ප්‍රාථමික අංශයේ සිගිතිපොළ පෙ.ව. 8.15ට ආරම්භ විය. එය පැය 3 මිනිත්තු 30කින් අවසන් විය. සිගිතිපොළ අවසන් වූ වේලාව කීය ද?

(2) පාසල් නාට්‍ය දර්ශනයක් පෙ.ව. 9.35ට ආරම්භ විය. එය පැය 2 මිනිත්තු 45කින් අවසන් විය. නාට්‍ය දර්ශනය අවසන් වූ වේලාව කීය ද?

(3) ප.ව. 5.32ට ආරම්භ වූ වර්ෂාව පැය 3 මිනිත්තු 45ට පසු නතර විය. වර්ෂාව නතර වූ වේලාව කීය ද?

## උදාහරණය 2

රත්මලාන ගුවන්තොටුපොළින් ගමන් ආරම්භ කළ ගුවන් යානයක් මිනිත්තු 26කින් පසු පලාලි ගුවන් තොටුපොළට පෙ.ව. 9.16ට ළඟා විය. ගුවන් යානය ගමන ආරම්භ කළ වේලාව කීය ද?

ගමන අවසන් කළ වේලාව = පෙ.ව. 9.16

ගත වූ කාලය = මිනිත්තු 26

| | පැය | මිනිත්තු |
|---|---|---|
| | 9 | 16 |
| − | 0 | 26 |
| | 8 | 50 |

මිනිත්තු තීරයේ 16න් 26ක් අඩු කළ නොහැකි ය. පැය තීරයෙන් 1ක් මිනිත්තු තීරයට ගෙන එන ලදි. එවිට, මිනිත්තු තීරයේ මිනිත්තු 76ක් ලැබේ. (මිනිත්තු 60+16) මිනිත්තු 76න් 26ක් අඩු කළ විට මිනිත්තු 50ක් ලැබේ. පැය තීරයේ පැය 8ක් ඉතුරු වේ.

ගමන ආරම්භ කළ වේලාව = පෙ.ව. 8.50

**4** ගැටලු විසඳන්න.

(1) නයනා පොතක් කියවීමට පැය 2යි මිනිත්තු 30ක් ගත කරයි. ඇය ප.ව. 3.45ට එම පොත කියවා අවසන් කළා ය. නයනා පොත කියවීම ආරම්භ කළ වේලාව කීය ද?

(2) පාපැදි තරඟකරුවෙක් පැය 4යි මිනිත්තු 15ක පුහුණුවීමකින් පසු පෙ.ව. 10.30ට පුහුණු වීම අවසන් කළේ ය. ඔහු පුහුණුවීම් ආරම්භ කළ වේලාව කීය ද?

(3) ප්‍රාථමික අංශයේ ක්‍රීඩා උළෙල ප.ව. 1.30ට අවසන් විය. එය පැය 5ක කාලයක් පැවතුණි. ක්‍රීඩා උළෙල ආරම්භ කළ වේලාව කීය ද?

# 23 බෙදීම - 2

## 6 න් බෙදමු.

| **උදාහරණය 1** | **උදාහරණය 2** |
|---|---|
| 84, 6 න් බෙදමු. | 608, 6 න් බෙදමු. |

**උදාහරණය 1**

84, 6 න් බෙදමු.

```
     14
6 | 84
    6
    24
    24
     0
```

$84 \div 6 = 14$

**උදාහරණය 2**

608, 6 න් බෙදමු.

```
     101
6 | 608
    6
    00
     0
     08
      6
      2
```

$608 \div 6 = 101$ ඉතුරු 2

1. දීර්ඝ බෙදීමේ ක්‍රමයට පිළිතුරු ලබා ගන්න.

| | |
|---|---|
| (1) $60 \div 6$ | (2) $99 \div 6$ |
| (3) $186 \div 6$ | (4) $516 \div 6$ |
| (5) $615 \div 6$ | (6) $840 \div 6$ |
| (7) $953 \div 6$ | (8) $634 \div 6$ |
| (9) $800 \div 6$ | (10) $904 \div 6$ |

(2) දීර්ඝ බෙදීමේ ක්‍රමයට ගැටලු විසඳන්න.

**උදාහරණය**

පාට පැන්සල් පෙට්ටි 180ක් පාසලකට ලැබී ඇත. එක් පන්තියකට පෙට්ටි 6 බැගින් පන්ති කීයකට ඒවා ලබා දිය හැකි ද?

```
     30
6 | 180
    18
     00
      0
      0
```

$180 \div 6 = 30$

පාට පැන්සල් පෙට්ටි 6 බැගින් බෙදා දිය හැකි පන්ති ගණන $= 30$

(1) පොල්ගෙඩි 96ක් 6 බැගින් කී දෙනෙකුට ලබා දිය හැකි ද?

(2) පොල් පැළ 900ක් එක් අයෙකුට 6 බැගින් ගොවීන් අතර බෙදාදීමට නියමිත ය. ඒවා ගොවීන් කී දෙනෙකුට බෙදාදීමට ප්‍රමාණවත් ද?

(3) සිරිල්, වත්තක අන්නාසි පැළ 785ක් එක් පේළියකට 6 බැගින් සිටවූයේ ය. එසේ සිටුවන ලද පේළි ගණන කීය ද? ඉතුරු පැළ ගණන කීය ද?

(4) රාධා තෑගිදීම සඳහා පොත් 892ක් පොත් 6 බැගින් පාර්සල් කළා ය.
   (i) පොත් 6 බැගින් වූ පාර්සල් ගණන කීය ද?
   (ii) තවත් එවැනි පාර්සලයක් සැකසීමට ඉතුරු පොත් ගණනට තව පොත් කීයක් අවශ්‍ය ද?

## 7 න් බෙදමු.

**උදාහරණය 1**

91, 7 න් බෙදමු.

```
    13
7 | 91
    7
    21
    21
     0
```

$91 \div 7 = 13$

**උදාහරණය 2**

772, 7 න් බෙදමු.

```
    110
7 | 772
    7
    07
     7
     02
      0
      2
```

$772 \div 7 = 110$ ඉතුරු 2

**3** දීර්ඝ බෙදීමේ ක්‍රමයට පිළිතුරු ලබා ගන්න.

| | |
|---|---|
| (1) $42 \div 7$ | (2) $217 \div 7$ |
| (3) $499 \div 7$ | (4) $805 \div 7$ |
| (5) $840 \div 7$ | (6) $700 \div 7$ |
| (7) $900 \div 7$ | (8) $714 \div 7$ |
| (9) $434 \div 7$ | (10) $978 \div 7$ |

**4** දීර්ඝ බෙදීමේ ක්‍රමයට ගැටලු විසඳන්න.

**උදාහරණය**

ගුරුතුමා ළමයින් 49 දෙනෙකු හත්දෙනා බැගින් කණ්ඩායම් කළේ ය. ළමයින් කණ්ඩායම් ගණන කීය ද?

$$\begin{array}{r|l} & 7 \\ \hline 7 & 49 \\ & \underline{49} \\ & 0 \end{array}$$

$49 \div 7 = 7$

කණ්ඩායම් ගණන $= 7$

(1) අධ්‍යාපන චාරිකාවක් යාමට තව දින 56ක් ඇත. එම දින ගණන, සති කීයක් ද?

(2) සයුරි, පංච ක්‍රීඩාව සඳහා යොදා ගන්නා බෙල්ලන් 728ක්, 7 බැගින් පැකට් කළා ය. සාදන ලද පැකට් ගණන කීය ද?

(3) පාසලක සිටින සිසුන්ට බෙදා දීමට අභ්‍යාස පොත් 905ක් ලැබුණි. එක් සිසුවෙකුට පොත් 7 බැගින් බෙදා දුන් විට පොත් 2ක් ඉතුරු විය. පාසලේ සිටින සිසුන් සංඛ්‍යාව කීය ද?

(4) සේවකයෙක් සහල් ගෝනි 714ක් ලොරි රථ 7කට සමාන ප්‍රමාණවලින් පැටවී ය. එක් ලොරි රථයකට පටවා ඇති සහල් ගෝනි ගණන කීය ද?

# 24 පුනරීක්ෂණය - 2

**1** සුළු කරන්න.

(1)

| | $l$ | ml |
|---|---|---|
| | 3 | 480 |
| + | 6 | 124 |
| | | |

(2)

| | $l$ | ml |
|---|---|---|
| | 4 | 648 |
| + | 4 | 410 |
| | | |

(3)

| | $l$ | ml |
|---|---|---|
| | 9 | 325 |
| − | 3 | 125 |
| | | |

(4)

| | $l$ | ml |
|---|---|---|
| | 8 | 729 |
| − | 4 | 814 |
| | | |

**2** කොන්ත්‍රාත්කරුවෙක් ගොඩනැගිල්ලක ආලේප කිරීම සඳහා නිල්පාට තීන්ත 14 $l$ 800 mlක් ද, රෝසපාට තීන්ත 10 $l$ 420 mlක් ද, සුදුපාට තීන්ත 8 $l$ 650 mlක් ද ගෙන ආවේ ය.

(1) නිල්පාට තීන්ත හා සුදුපාට තීන්ත ප්‍රමාණ අතර වෙනස කොපමණ ද?

(2) රෝසපාට තීන්ත ප්‍රමාණයට වඩා නිල්පාට තීන්ත ප්‍රමාණය කොපමණ වැඩි ද?

(3) රෝසපාට තීන්තවලට සුදුපාට තීන්ත කළවම් කළ පසු භාජනයේ ඇති මුළු තීන්ත ප්‍රමාණය කොපමණ ද?

**3** බෝතල් දෙකක දොඩම් යුෂ 180 mlක් හා 150 mlක් බැගින් ඇත.

(1) බෝතල් දෙකෙහි ඇති මුළු දොඩම් යුෂ ප්‍රමාණය කොපමණ ද?

(2) දොඩම් යුෂ පානය 1 $l$ක් සෑදීමට ඉහත දොඩම් යුෂ ප්‍රමාණයට ජලය කොපමණ ප්‍රමාණයක් එකතු කළ යුතු ද?

**4** විසඳන්න.

| (1) | | | (2) | | | (3) | | | (4) | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | kg | g | | kg | g | | kg | g | | kg | g |
| | 30 | 450 | | 29 | 125 | | 56 | 341 | | 46 | 459 |
| + | 11 | 820 | + | 10 | 912 | – | 31 | 500 | – | 15 | 565 |

**5** වගන්ති ලියා විසඳන්න.

(1) ගොවියෙක් පළමු දිනයේ දී පොහොර 12 kg 800 gක් ද දෙවන දිනයේ පොහොර 7 kg 250 gක් ද එළවළු පාත්තිවලට දැමුවේ ය. දින දෙකේ දී ම දමන ලද පොහොරවල මුළු බර කොපමණ ද?

(2) බේකරි හිමියෙක් තිරිඟු පිටි 56 kgක් ගෙන ආවේ ය. ඉන් 25 kg 800 gක් බනිස් සෑදීමට ගන්නා ලදි. ඉතුරු තිරිඟු පිටි ප්‍රමාණයේ බර කොපමණ ද?

**6** පහත එක් එක් ඝන වස්තුවේ,

(i) නම
(ii) මුහුණත් ගණන
(iii) ශීර්ෂ ගණන
(iv) දාර ගණන

ලියා දක්වන්න.

(1)



(2)



(3)



(4)



7. ප්‍රාථමික පාසල් තුනක සිටින මුළු ශිෂ්‍ය සංඛ්‍යාව වගුවේ දැක්වේ.

| පාසල | ශිෂ්‍ය සංඛ්‍යාව |
|---|---|
| A | 370 |
| B | 260 |
| C | 820 |

(1) A හා B පාසල් දෙකේ සිටින මුළු ශිෂ්‍ය සංඛ්‍යාවේ එකතුව කොපමණ ද?

(2) C පාසලේ සිටින ශිෂ්‍ය සංඛ්‍යාව, A හා B පාසල් දෙකේ සිටින මුළු ශිෂ්‍ය සංඛ්‍යාවේ එකතුවට වඩා කොපමණ වැඩි ද?

8. එක්තරා පාසලක අධ්‍යාපන චාරිකාවකට සහභාගි වූ ප්‍රාථමික ශ්‍රේණිවල සිසුන් ගණන පහත වගුවේ දැක්වේ.

| | 5 ශ්‍රේණිය | 4 ශ්‍රේණිය | 3 ශ්‍රේණිය | 2 ශ්‍රේණිය |
|---|---|---|---|---|
| සිසුන් ගණන | 45 | 40 | 45 | 40 |

(1) එක් එක් ශ්‍රේණියෙන් සහභාගි වූ සිසුන් ගණන පිළිබඳ තොරතුරු තීර ප්‍රස්තාරයක දක්වන්න. (අභ්‍යාස පොතේ එක් කොටුවකින් නිරූපණය කරන සිසුන් ගණන සුදුසු පරිදි තෝරා ගන්න.)

(2) තීර ප්‍රස්තාරයෙන් නිරූපණය වන තොරතුරු විස්තර වන වගන්ති 5ක් ලියන්න.

**9**



(1) (i) ඉහත රූපයෙන් $\frac{4}{10}$ පාට කරන්න.

(ii) පාට කළ ප්‍රමාණය දශම සංඛ්‍යාවක් ලෙස ලියන්න.

(2) (i) රූපයේ පාට නොකළ ප්‍රමාණය මුළු රූපයෙන් භාගයක් ලෙස ලියන්න.

(ii) එය දශම සංඛ්‍යාවක් ලෙස ලියන්න.

**10** වගුව සම්පූර්ණ කරන්න.

| රූපික නිරූපණය | භාගයක් ලෙස | දශම සංඛ්‍යාවක් ලෙස |
|---|---|---|
|  | .................... | ................................................. |
|  | .................... | 0.2 |
|  | $\frac{3}{10}$ | ................................................. |
|  | .................... | ................................................. |
|  | .................... | 0.8 |

11 සුළු කරන්න.

(1)

| | m | cm |
|---|---|---|
| | 47 | 36 |
| + | 11 | 44 |

(2)

| | m | cm |
|---|---|---|
| | 33 | 34 |
| + | 20 | 71 |

(3)

| | m | cm |
|---|---|---|
| | 37 | 81 |
| + | 45 | 26 |

(4)

| | m | cm |
|---|---|---|
| | 85 | 64 |
| − | 11 | 72 |

(5)

| | m | cm |
|---|---|---|
| | 57 | 26 |
| − | 41 | 74 |

(6)

| | m | cm |
|---|---|---|
| | 68 | 59 |
| − | 17 | 64 |

(7)

| | m | cm |
|---|---|---|
| | 3 | 30 |
| × | | 3 |

(8)

| | m | cm |
|---|---|---|
| | 12 | 32 |
| × | | 5 |

(9)

| | m | cm |
|---|---|---|
| | 24 | 10 |
| × | | 4 |

(10) $4\overline{)8 \text{ m } 72 \text{ cm}}$

(11) $2\overline{)36 \text{ m } 24 \text{ cm}}$

(12) $3\overline{)81 \text{ m } 9 \text{ cm}}$

12 විසඳන්න.

(1) වැටක් ගැසීමට ගෙනා කම්බි රෝල් දෙකක දිග පිළිවෙළින් 25 m 75 cmක් සහ 50 m 50 cmක් විය. රෝල් දෙකෙහි ඇති කම්බිවල මුළු දිග කොපමණ ද? කම්බි රෝල් දෙකේ දිග අතර වෙනස කොපමණ ද?

(2) 16 m 35 cmක් දිගකට කාණුවක් කැපිය යුතු වේ. සමන් කාණුවේ 7 m 15 cmක දිගක් කැපුවේ ය. කුමාර් විසින් කාණුවේ ඉතුරු කොටස කපනු ලැබුවේ නම් ඔහු කැපූ දිග කොපමණ ද?

(3) ගවුමක් මැසීමට 2 m 70 cmක රෙදි ප්‍රමාණයක් අවශ්‍ය වේ. එවැනි ගවුම් පහක් මැසීමට අවශ්‍ය රෙදි ප්‍රමාණය කොපමණ ද?

(4) තාප්පයක දිග 16 m 20 cmකි. සිතුවම් ඇඳීම සඳහා එය සමාන දිගින් යුතු කොටස් හතරකට බෙදන ලදි. එවිට ලැබෙන එක් කොටසක දිග කොපමණ ද?

**13** ගුණ කරන්න.

| (1) | (2) | (3) | (4) |
|---|---|---|---|
| 3 1 | 9 0 7 | 7 7 | 8 6 1 |
| × 6 | × 6 | × 7 | × 7 |

**14** ගැටලු විසඳන්න.

(1) බේකරි හිමියෙක් දිනකට පාන් ගෙඩි 625ක් සාදයි. ඔහු සෑම දිනක ම පාන් ගෙඩි එක ම ගණනක් සාදයි නම් දින හයක දී සාදනු ලබන පාන් ගෙඩි ගණන කොපමණ ද?

(2) එක් පොත් මිටියක පොත් හතක් ඇත. එවැනි පොත් මිටි 750ක ඇති පොත් ගණන කොපමණ ද?

**15** දීර්ඝ බෙදීමේ ක්‍රමයට පිළිතුරු ලබා ගන්න.

(1) $54 \div 6$ (2) $70 \div 7$ (3) $654 \div 6$

(4) $756 \div 7$ (5) $970 \div 6$ (6) $901 \div 7$

**16** ගැටලු විසඳන්න.

(1) එක් කොඩි වැලකට කොඩි හයක් වන සේ කොඩි 846කින් එවැනි කොඩි වැල් කීයක් සැකසිය හැකි ද?

(2) අඹ ගෙඩි 350කින්, අඹ ගෙඩි හත බැගින් ඇති පෙට්ටි කීයක් සැකසිය හැකි ද?

(3) රඹුටන් ගෙඩි 742ක් ඉතුරු නොවන ලෙස සමානව ගොඩවල් 6කට වෙන් කරන ලදි. එවිට එක් ගොඩක ඇති රඹුටන් ගෙඩි ගණන කීය ද? ඉතුරු රඹුටන් ගෙඩි ගණන කීය ද?

17 මිල දර්ශනය බලා පිළිතුරු ලියන්න.

| ද්‍රව්‍යය | 1 kgක මිල | |
|---|---|---|
| | රුපියල් | සත |
| සීනි | 100 | 00 |
| පරිප්පු | 130 | 00 |
| අර්තාපල් | 300 | 00 |
| තිරිඟු පිටි | 120 | 00 |
| සහල් | 110 | 00 |
| රට ලූනු | 156 | 00 |
| මිරිස් | 600 | 00 |
| කරවල | 950 | 00 |
| කව්පි | 470 | 00 |

පහත එක් එක් අවස්ථාවේ මිල ගණන් සෙවීමට වෙන වෙන ම බිල්පත් සාදන්න.

(1) සීනි 1 kg, කව්පි 500 g සහ මිරිස් 750 gක් සඳහා ගෙවිය යුතු මුදල සොයන්න.

(2) අර්තාපල් 500 g, තිරිඟු පිටි 750g සහ සීනි 1 kg සඳහා ගෙවිය යුතු මුදල කීය ද?

(3) රට ලූනු 2 kg , මිරිස් 3 kg සහ කරවල 500 g සඳහා ගෙවිය යුතු මුදල කීය ද?

(4) සහල් 2 kg , තිරිඟු පිටි 500 g සහ සීනි 500 gක් මිල දී ගෙන රුපියල් 500ක් දුන් විට ලැබෙන ඉතුරු මුදල කීය ද?

(5) (i) සහල්, පරිප්පු සහ රටලූනු යන ද්‍රව්‍ය 500 g බැගින් මිල දී ගැනීමට අවශ්‍ය මුදල කීය ද?

(ii) ඒ සඳහා රුපියල් 500 නෝට්ටුවක් මුදලාලිට දුන් විට ලැබෙන ඉතුරු මුදල කීය ද?

**18** විසඳන්න.

(1) විවිධ ප්‍රසංගයක පළමු දර්ශනය පෙ.ව. 10.30ට ආරම්භ වී ප.ව. 1.00ට අවසන් විය. විවිධ ප්‍රසංගයේ පළමු දර්ශනය සඳහා ගත වූ කාලය කොපමණ ද?

(2) පාසලේ පැවති ඩෙංගු මර්දන ශ්‍රමදාන වැඩසටහන පෙ.ව. 7.50ට ආරම්භ විය. එය පැය 3 මිනිත්තු 30ක් පැවතුණි. ඩෙංගු මර්දන ශ්‍රමදාන වැඩසටහන අවසන් වූ වේලාව කීය ද?

(3) කාර්යාලයේ සිට දුම්රිය ස්ථානයට යාමට නාදන්ට මිනිත්තු 24ක් ගත විය. ප.ව. 4.45ට ඔහු දුම්රිය ස්ථානයට ළඟා වූයේ නම්, නාදන් කාර්යාලයෙන් පිට වූ වේලාව කීය ද?

# 25 දිශා

තාරකී ඔයා දන්නවා ද ඉර පායන දිශාව ?



ඉර පායන්නේ නැගෙනහිර දිශාවෙන්. මතක ද අපි හතරේ පන්තියේ දී ප්‍රධාන දිශා හතර ම ඉගෙන ගත්තා ?






ප්‍රධාන දිශා හතර විතරක් නොවේ, අනුදිශා හතරකුත් තියෙනවා.






ප්‍රධාන දිශා හතරක් ද අනුදිශා හතරක් ද තිබේ.

1 පාසල් භූමිය තුළ වූ ස්ථාන කිහිපයක් පිහිටි ආකාරය පහත දැක්වේ.





පැරකුම් ශාලාව



ආපණ ශාලාව


අඹ ගස


ප්‍රධාන ශාලාව


විජය ශාලාව


ගණිතාගාරය


පුස්තකාලය


ප්‍රධාන ගේට්ටුව


කාර්යාලය

- විජය ශාලාවට දකුණු දිශාවෙන් ප්‍රධාන ගේට්ටුව පිහිටා ඇත.
- විජය ශාලාවට නිරිත දිශාවෙන් පුස්තකාලය පිහිටා ඇත.
- විජය ශාලාවට ඊසාන දිශාවෙන් අඹ ගස ඇත.

ඉහත පිහිටීම් දෙස බලා ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.

(1) විජය ශාලාවට උතුරු දිශාවෙන් පිහිටා ඇත්තේ කුමක් ද?

(2) ගණිතාගාරයට බටහිර දිශාවෙන් පිහිටා ඇත්තේ මොනවා ද?

(3) පුස්තකාලයට කුමන දිශාවෙන් ප්‍රධාන ශාලාව පිහිටා තිබේ ද?

(4) ආපණ ශාලාවට දකුණු දිශාවෙන් පිහිටා ඇත්තේ මොනවා ද?

(5) විජය ශාලාවට ගිනිකොන දිශාවෙන් පිහිටා ඇත්තේ කුමක් ද?

(6) විජය ශාලාවට වයඹ දිශාවෙන් පිහිටා ඇත්තේ කුමක් ද?

2 පහත සටහන බලා හිස්තැන් සම්පූර්ණ කරන්න.


පාසල


ඉන්ධන පිරවුම්හල


පොලිසිය






රෝහල


කමල්



බැංකුව



බස් නැවතුම්පළ


වෙළෙඳසල


තැපැල් කාර්යාලය

(1) කමල්ට ............................... දිශාවෙන් ඉන්ධන පිරවුම්හල පිහිටා ඇත.
(2) කමල්ට නිරිත දිශාවෙන් ............................... පිහිටා ඇත.
(3) කමල්ට බටහිර දිශාවෙන් ............................... පිහිටා ඇත.
(4) කමල්ට ............................... දිශාවෙන් වෙළෙඳසල පිහිටා ඇත.
(5) කමල්ට ඊසාන දිශාවෙන් ............................... පිහිටා ඇත.
(6) කමල්ට ............................... දිශාවෙන් බැංකුව පිහිටා ඇත.
(7) කමල්ට ............................... දිශාවෙන් පාසල පිහිටා ඇත.
(8) කමල්ට ගිනිකොන දිශාවෙන් ............................... පිහිටා ඇත.

3 පහත රූපයේ දැක්වෙන්නේ නිවසක් හා එය අවට පිහිටීම දැක්වෙන සටහනකි. ඒ ඇසුරෙන් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.




(1) පේර ගස තිබෙන්නේ නිවසට ..වයඹ.. දිශාවෙන් ය.

(2) කොස් ගසට දකුණු දිශාවෙන් පිහිටා ඇත්තේ .................................. හා ............................... ය.

(3) ළිඳට .............................. දිශාවෙන් නිවස පිහිටා ඇත.

(4) නිවසට .............................. දිශාවෙන් ගේට්ටුව ඇත.

(5) කොස් ගසට ගිනිකොන දිශාවෙන් .......................................... හා ............................... ඇත.

(6) ළිඳට .............................. දිශාවෙන් පේර ගස ඇත.

# 26 ගුණ කිරීම - 3

## අටෙහි ගුණන වගුව ගොඩනගමු.



$1 \times 8 = 8$

එක් වරක් අට අටයි.



$8 + 8 = 16$

$2 \times 8 = 16$

දෙවරක් අට දහසයයි.



$8 + 8 + 8 = 24$

$3 \times 8 = 24$

තුන් වරක් අට විසි හතරයි.



$8 + 8 + 8 + 8 = 32$

$4 \times 8 = 32$

හතර වරක් අට තිස් දෙකයි.



$8 + 8 + 8 + 8 + 8 = 40$

$5 \times 8 = 40$

පස් වරක් අට හතළිහයි.



$8 + 8 + 8 + 8 + 8 + 8 = 48$

$6 \times 8 = 48$

හය වරක් අට හතළිස් අටයි.



$8 + 8 + 8 + 8 + 8 + 8 + 8 = 56$

$7 \times 8 = 56$

හත් වරක් අට පනස් හයයි.



$8 + 8 + 8 + 8 + 8 + 8 + 8 + 8 = 64$

$8 \times 8 = 64$

අට වරක් අට හැට හතරයි.



$8 + 8 + 8 + 8 + 8 + 8 + 8 + 8 + 8 = 72$

$9 \times 8 = 72$

නව වරක් අට හැත්තෑ දෙකයි.



$8 + 8 + 8 + 8 + 8 + 8 + 8 + 8 + 8 + 8 = 80$

$10 \times 8 = 80$

දහ වරක් අට අසූවයි.

**1** 8 හි ගුණන වගුව ඇසුරින් හිස්තැන් පුරවන්න.

| | | |
|---|---|---|
| (1) 1 × 8 = ....... | | (6) 6 × ....... = 48 |
| (2) 2 × ....... = 16 | | (7) 7 × 8 = ....... |
| (3) 3 × 8 = ....... | | (8) ....... × 8 = 72 |
| (4) ..... × 8 = 32 | | (9) ....... × ....... = 64 |
| (5) 5 × 8 = ....... | | (10) ....... × ....... = 80 |

**2** ගුණිතයට ගැළපෙන පිළිතුර තෝරා යා කරන්න.

| | |
|---|---|
| 5 × 8 | 64 |
| 1 × 8 | 24 |
| 8 × 8 | 40 |
| 3 × 8 | 48 |
| 6 × 8 | 8 |

| | |
|---|---|
| 2 × 8 | 72 |
| 7 × 8 | 56 |
| 4 × 8 | 80 |
| 9 × 8 | 16 |
| 10 × 8 | 32 |

## අටෙන් ගුණ කරමු.

### උදාහරණය

| | | | | |
|---|---|---|---|---|
| | | 5 | 4 | 8 |
| | × | | | 8 |
| | 4 | 3 | 8 | 4 |
| | | 3 | 6 | |

පිළිතුර ලැබෙන්නේ මෙහෙමයි.

| දා | සි | ද | ඒ | |
|---|---|---|---|---|
| | 5 | 4 | 8 | ← 500 + 40 + 8 |
| × | | | 8 | |
| | | 6 | 4 | ← පළමුව 8, 8න් ගුණ කර ඇත. |
| | 3 | 2 | 0 | ← දෙවනුව 40, 8 න් ගුණකර ඇත. |
| 4 | 0 | 0 | 0 | ← තෙවනුව 500, 8න් ගුණ කර ඇත. |
| 4 | 3 | 8 | 4 | ← ඒළඟට 64, 320 හා 4000 එකතු කර ඇත. |

**3** ගුණ කරන්න.

| (1) | (2) | (3) | (4) |
|---|---|---|---|
| 3 1 | 5 0 | 6 2 | 4 7 |
| × 8 | × 8 | × 8 | × 8 |

| (5) | (6) | (7) | (8) |
|---|---|---|---|
| 2 1 2 | 1 0 9 | 6 4 3 | 8 1 4 |
| × 8 | × 8 | × 8 | × 8 |

| (9) | (10) | (11) | (12) |
|---|---|---|---|
| 7 0 0 | 7 5 0 | 8 1 8 | 6 0 6 |
| × 8 | × 8 | × 8 | × 8 |

**4** ගැටලු විසඳන්න.

(1) මාලයක් සෑදීමට පබළු 79ක් අවශ්‍ය වේ. එවැනි මාල අටක් සෑදීමට අවශ්‍ය පබළු සංඛ්‍යාව කොපමණ ද?

(2) වත්තක රබර් ගස් එක් පෙළකට අට බැගින් පේළි 160ක් ඇත. වත්තේ තිබෙන මුළු රබර් ගස් ගණන කොපමණ ද?

(3) ඇඳුමකට බොත්තම් අටක් බැගින් අල්ලා ඇඳුම් 425ක් මසා ඇත. ඇඳුම්වලට අල්ලන ලද මුළු බොත්තම් ගණන කීය ද?

## නවයෙහි ගුණන වගුව ගොඩනගමු.



$1 \times 9 = 9$

එක් වරක් නවය නවයයි.



$9 + 9 = 18$

$2 \times 9 = 18$

දෙවරක් නවය දහඅටයි.



$9 + 9 + 9 = 27$

$3 \times 9 = 27$

තුන් වරක් නවය විසි හතයි.



$9 + 9 + 9 + 9 = 36$

$4 \times 9 = 36$

හතර වරක් නවය තිස් හයයි.



$9 + 9 + 9 + 9 + 9 = 45$

$5 \times 9 = 45$

පස් වරක් නවය හතළිස් පහයි.



$9 + 9 + 9 + 9 + 9 + 9 = 54$

$6 \times 9 = 54$

හය වරක් නවය පනස් හතරයි.



$9 + 9 + 9 + 9 + 9 + 9 + 9 = 63$

$7 \times 9 = 63$

හත් වරක් නවය හැට තුනයි.



$9 + 9 + 9 + 9 + 9 + 9 + 9 + 9 = 72$

$8 \times 9 = 72$

අට වරක් නවය හැත්තෑ දෙකයි.



$9 + 9 + 9 + 9 + 9 + 9 + 9 + 9 + 9 = 81$

$9 \times 9 = 81$

නව වරක් නවය අසූ එකයි.



$9 + 9 + 9 + 9 + 9 + 9 + 9 + 9 + 9 + 9 = 90$

$10 \times 9 = 90$

දහ වරක් නවය අනූවයි.

5 9 හි ගුණන වගුව ඇසුරින් හිස්තැන් පුරවන්න.

| | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| (1) | 1 | × | ....... | = | 9 | (6) | 6 | × | 9 | = | ....... |
| (2) | 2 | × | 9 | = | ....... | (7) | ....... | × | 9 | = | 63 |
| (3) | 3 | × | ....... | = | 27 | (8) | 8 | × | ....... | = | 72 |
| (4) | 4 | × | 9 | = | ....... | (9) | ....... | × | ....... | = | 81 |
| (5) | ....... | × | 9 | = | 45 | (10) | ....... | × | ....... | = | 90 |

6 9 හි ගුණන වගුව ඇසුරින් හිස් කොටු පුරවන්න.

| × | 3 | 6 | 4 | 2 | 5 | 9 | 7 | 10 | 8 | 1 |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| 9 | | | | 18 | | | | | | 9 |

## නවයෙන් ගුණ කරමු.

### උදාහරණය

| | | | | |
|---|---|---|---|---|
| | | | | |
| | | 2 | 5 | 3 |
| | × | | | 9 |
| | 2 | 2 | 7 | 7 |
| | | 4 | 2 | |

පිළිතුර ලැබෙන්නේ මෙහෙමයි.

| දා | සි | ද | ඒ | |
|---|---|---|---|---|
| | 2 | 5 | 3 | ← 200 + 50 + 3 |
| × | | | 9 | |
| | | 2 | 7 | ← පළමුව 3, 9න් ගුණ කර ඇත. |
| | 4 | 5 | 0 | ← දෙවනුව 50, 9 න් ගුණකර ඇත. |
| 1 | 8 | 0 | 0 | ← තෙවනුව 200, 9න් ගුණ කර ඇත. |
| 2 | 2 | 7 | 7 | ← ඊළඟට 27, 450 හා 1800 එකතු කර ඇත. |





## 7 ගුණ කරන්න.

| (1) | (2) | (3) | (4) |
|---|---|---|---|
| $\begin{array}{r} 21 \\ \times\ \ 9 \\ \hline \\ \hline\hline \end{array}$ | $\begin{array}{r} 35 \\ \times\ \ 9 \\ \hline \\ \hline\hline \end{array}$ | $\begin{array}{r} 64 \\ \times\ \ 9 \\ \hline \\ \hline\hline \end{array}$ | $\begin{array}{r} 407 \\ \times\ \ \ 9 \\ \hline \\ \hline\hline \end{array}$ |

| (5) | (6) | (7) | (8) |
|---|---|---|---|
| $\begin{array}{r} 382 \\ \times\ \ \ 9 \\ \hline \\ \hline\hline \end{array}$ | $\begin{array}{r} 530 \\ \times\ \ \ 9 \\ \hline \\ \hline\hline \end{array}$ | $\begin{array}{r} 642 \\ \times\ \ \ 9 \\ \hline \\ \hline\hline \end{array}$ | $\begin{array}{r} 200 \\ \times\ \ \ 9 \\ \hline \\ \hline\hline \end{array}$ |

## 8 ගැටලු විසඳන්න.

(1) පන්තියක සිසුහු 48 දෙනෙක් සිටිති. එක් සිසුවෙකුට අභ්‍යාස පොත් නවය බැගින් ලබා දීමට අවශ්‍ය මුළු පොත් ගණන කීය ද?

(2) තවානක එක් පේළියකට අඹ පැළ නවයක් ඇත. තවානේ එවැනි පේළි 125ක් ඇත. තවානේ ඇති මුළු අඹ පැළ ගණන කීය ද?

(3) එක් ඇසුරුමක ටෙනිස් බෝල නවයක් ඇත. එවැනි ඇසුරුම් 340ක ඇති ටෙනිස් බෝල ගණන කීය ද?

(4) එක වට්ටියක නෙළුම් මල් නවයක් ඇත. එවැනි වට්ටි 500ක ඇති නෙළුම් මල් ගණන කොපමණ ද?



## දහයෙන් ගුණ කරමු.

**9** හිස්තැන් සම්පූර්ණ කරන්න.

| | | | | |
|---|---|---|---|---|
| (1) 1 × 10 = ....... | | | | (6) ....... × 10 = 60 |
| (2) ....... × 10 = 20 | | | | (7) 7 × 10 = ....... |
| (3) 3 × ....... = 30 | | | | (8) ....... × 10 = 80 |
| (4) ....... × 10 = 40 | | | | (9) 9 × ....... = 90 |
| (5) 5 × ....... = 50 | | | | (10) ....... × 10 = 100 |

**10** ගුණ කරන්න.

**උදාහරණය**

| | | | |
|---|---|---|---|
| | | 1 | 2 |
| | × | 1 | 0 |
| | 1 | 2 | 0 |

පිළිතුර ලැබෙන්නේ මෙහෙමයි.

| සි | ද | ඒ | |
|---|---|---|---|
| | 1 | 2 | ← 10 + 2 |
| × | 1 | 0 | |
| | 2 | 0 | ← පළමුව 2, 10න් ගුණ කර ඇත. |
| 1 | 0 | 0 | ← දෙවනුව 10, 10 න් ගුණකර ඇත. |
| 1 | 2 | 0 | ← ඊළඟට 20 හා 100 එකතු කර ඇත. |

(1)

| | | |
|---|---|---|
| | 2 | 3 |
| × | 1 | 0 |

(2)

| | | |
|---|---|---|
| | 1 | 0 |
| × | 1 | 0 |

(3)

| | | |
|---|---|---|
| | 4 | 1 |
| × | 1 | 0 |

(4)

| | | |
|---|---|---|
| | 6 | 5 |
| × | 1 | 0 |

(5)

| | | |
|---|---|---|
| | 7 | 0 |
| × | 1 | 0 |

(6)

| | | |
|---|---|---|
| | 8 | 4 |
| × | 1 | 0 |

(7)

| | | |
|---|---|---|
| | 8 | 7 |
| × | 1 | 0 |

(8)

| | | |
|---|---|---|
| | 9 | 9 |
| × | 1 | 0 |

**11** ගුණ කරන්න.

(1) $15 \times 10$ = ..........

(2) $24 \times 10$ = ..........

(3) $48 \times 10$ = ..........

(4) $37 \times 10$ = ..........

(5) $55 \times 10$ = ..........

(6) $61 \times 10$ = ..........

(7) $73 \times 10$ = ..........

(8) $60 \times 10$ = ..........

(9) $82 \times 10$ = ..........

(10) $90 \times 10$ = ..........

**12** ගැටලු විසඳන්න.

(1) පෙට්ටියක නූල් පන්දු දහයක් ඇත. එවැනි පෙට්ටි 25ක ඇති නූල් පන්දු ගණන කොපමණ ද?

(2) දිවුල් ගෙඩි දහය බැගින් වූ ගොඩවල් 80ක් විකිණීමට තබා ඇත. විකිණීමට තබා ඇති මුළු දිවුල් ගෙඩි ගණන කීය ද?

(3) එක් ඇසුරුමක යෝගට් දහයක් ඇත. එවැනි ඇසුරුම් 95ක ඇති යෝගට් ගණන කීය ද?

# 27 පරිමාව හා ධාරිතාව - 2

**1** පහත දක්වා ඇති පලතුරු බීම වර්ගවල ඇති මුළු බීම ප්‍රමාණය කොපමණ ද?

**උදාහරණය**

දොඩම්



300 ml　300 ml　300 ml

$$\begin{array}{r} 300\text{ ml} \\ \times \quad 3 \\ \hline 900\text{ ml} \\ \hline\hline \end{array}$$

(1) අඹ



800 ml　800 ml　800 ml　800 ml

$$\begin{array}{r} 800\text{ ml} \\ \times \quad 4 \\ \hline \\ \hline\hline \end{array}$$

(2) දෙළුම්



1*l* 250 ml　1*l* 250 ml　1*l* 250 ml　1*l* 250 ml

$$\begin{array}{rr} l & \text{ml} \\ 1 & 250 \\ \times & 4 \\ \hline & \\ \hline\hline \end{array}$$

(3) අන්නාසි



5*l* 250 ml　5*l* 250 ml　5*l* 250 ml　5*l* 250 ml　5*l* 250 ml

$$\begin{array}{rr} l & \text{ml} \\ 5 & 250 \\ \times & 5 \\ \hline & \\ \hline\hline \end{array}$$

2 ගුණ කරන්න.

**උදාහරණය**

| | $l$ | ml |
|---|---|---|
| | 1 | 635 |
| $\times$ | | 2 |
| | 3 | 270 |

(1)

| | $l$ | ml |
|---|---|---|
| | 3 | 115 |
| $\times$ | | 3 |
| | | |

(2)

| | $l$ | ml |
|---|---|---|
| | 5 | 310 |
| $\times$ | | 4 |
| | | |

(3)

| | $l$ | ml |
|---|---|---|
| | 11 | 700 |
| $\times$ | | 5 |
| | | |

(4)

| | $l$ | ml |
|---|---|---|
| | 32 | 810 |
| $\times$ | | 2 |
| | | |

(5)

| | $l$ | ml |
|---|---|---|
| | 40 | 305 |
| $\times$ | | 4 |
| | | |

(6)

| | $l$ | ml |
|---|---|---|
| | 12 | 500 |
| $\times$ | | 4 |
| | | |

(7)

| | $l$ | ml |
|---|---|---|
| | 21 | 90 |
| $\times$ | | 4 |
| | | |

(8)

| | $l$ | ml |
|---|---|---|
| | 8 | 6 |
| $\times$ | | 5 |
| | | |

3 විසඳන්න.

**උදාහරණය**

කිරි ගොවියෙක් සෑම දිනක ම කිරි 5 $l$ 100 mlක ප්‍රමාණයක් කිරි එකතු කිරීමේ මධ්‍යස්ථානයකට ලබා දෙයි. දින පහක දී මධ්‍යස්ථානයට ඔහු ලබා දුන් මුළු කිරි ප්‍රමාණය කොපමණ ද?

| | $l$ | ml |
|---|---|---|
| | 5 | 100 |
| $\times$ | | 5 |
| | 25 | 500 |

දින 5ක දී දෙන කිරි ප්‍රමාණය = 25 $l$ 500 ml

(1) පන්ති කාමරයක ආලේප කිරීමට තීන්ත 4 $l$ 400 mlක් අවශ්‍ය වේ. එවැනි පන්ති කාමර තුනක ආලේප කිරීමට අවශ්‍ය තීන්ත ප්‍රමාණය කොපමණ ද?

(2) බැරලයකට තෙල් 10 $l$ 450 mlක් පිරවිය හැකි ය. එවැනි බැරල් දෙකකට පිරවිය හැකි මුළු තෙල් ප්‍රමාණය කොපමණ ද?

(3) ටැංකියක් සම්පූර්ණයෙන් පිරවීමට ජලය 300 $l$ක් අවශ්‍ය වේ. එවැනි ටැංකි පහක් සම්පූර්ණයෙන් පිරවීමට අවශ්‍ය ජලය ප්‍රමාණය කොපමණ ද?

(4) රසකැවිලි නිෂ්පාදන ආයතනයකට දිනකට පොල් පැණි 45 $l$ 250 mlක් අවශ්‍ය වේ. දින පහකට අවශ්‍ය මුළු පොල් පැණි ප්‍රමාණය කොපමණ ද?

**4** බෙදන්න.

**උදාහරණය**

```
    3 l 231 ml
  ------------
2 | 6 l 462 ml
  | 6
  | --
  | 0   4
        4
       --
        06
         6
       ---
         02
          2
         --
          0
```

(1) $2 \overline{)\, 4\ l\ 624\ \text{ml}}$

(2) $2 \overline{)\, 8\ l\ 126\ \text{ml}}$

(3) $3 \overline{)\, 9\ l\ 510\ \text{ml}}$

(4) $3 \overline{)\, 12\ l\ 123\ \text{ml}}$

(5) $4 \overline{)\, 8\ l\ 320\ \text{ml}}$

(6) $4 \overline{)\, 16\ l\ 428\ \text{ml}}$

(7) $5 \overline{)\, 25\ l\ 450\ \text{ml}}$

(8) $5 \overline{)\, 20\ l\ 105\ \text{ml}}$





5 විසඳන්න.

**උදාහරණය**

සුපුන් කිරි 4 *l* 960 mlක් බෝතල් හතරකට සමාන ප්‍රමාණවලින් දමයි. එක් බෝතලයකට දැමූ කිරි ප්‍රමාණය කොපමණ ද?

```
      1 l 240 ml
   ┌────────────
 4 │4 l 960 ml
   │4
   └──
    0  9
       8
    ────
       16
       16
       ──
        00
         0
        ──
         0
```

එක් බෝතලයකට දැමූ කිරි ප්‍රමාණය = 1 *l* 240 ml

(1) කුඩා බැරලයක පොල් තෙල් 45 *l* 750 mlක් ඇත. එය සමාන ප්‍රමාණවලින් භාජන පහකට දමනු ලැබේ. එක භාජනයක ඇති පොල් තෙල් ප්‍රමාණය කොපමණ ද?

(2) එක ම ප්‍රමාණයේ මල් බඳුන් හතරක් පින්තාරු කිරීමට තීන්ත 24 *l* 600 mlක් අවශ්‍ය වේ. එක් බඳුනක් පින්තාරු කිරීමට අවශ්‍ය තීන්ත ප්‍රමාණය කොපමණ ද?

(3) එක සමාන ජල ප්‍රමාණයක් අල්ලන බාල්දි 3ක් සම්පූර්ණයෙන් පුරවා ඇත. ඒවායේ ඇති ජලය හිස් ටැංකියකට දැමූ පසු එහි ඇති මුළු ජල ප්‍රමාණය 15 *l* 120 mlක් වේ. එක බාල්දියක තිබූ ජල ප්‍රමාණය කොපමණ ද?

(4) කමල් උත්සවයක් සඳහා අවස්ථා පහක දී සමාන ප්‍රමාණවලින් අයිස්ක්‍රීම් ගෙනාවේ ය. ගෙනෙන ලද මුළු අයිස්ක්‍රීම් ප්‍රමාණය 25 *l* 750 mlකි. ඔහු එක් අවස්ථාවක දී ගෙන ආ අයිස්ක්‍රීම් ප්‍රමාණය කොපමණ ද?

# 28 බෙදීම - 3

## 8 න් බෙදමු.

**උදාහරණය 1**

96, 8 න් බෙදමු.

```
     12
8 | 96
    8
    -
    16
    16
    --
     0
```

$96 \div 8 = 12$

**උදාහරණය 2**

826, 8 න් බෙදමු.

```
     103
8 | 826
    8
    02
     0
    --
     26
     24
     --
      2
```

$826 \div 8 = 103$ ඉතුරු 2

**1** දීර්ඝ බෙදීමේ ක්‍රමයට පිළිතුරු ලබා ගන්න.

| | |
|---|---|
| (1) $104 \div 8$ | (2) $128 \div 8$ |
| (3) $408 \div 8$ | (4) $720 \div 8$ |
| (5) $800 \div 8$ | (6) $649 \div 8$ |
| (7) $872 \div 8$ | (8) $808 \div 8$ |
| (9) $990 \div 8$ | (10) $802 \div 8$ |

**2** ගැටලු විසඳන්න.

(1) දොඩම් ගෙඩි 848ක් අට බැගින් ඇසුරුම් කර ඇත. ඇසුරුම් ගණන කීය ද?

(2) බෝල 957ක් තිබේ. කසුන්, ඒවා අට බැගින් පෙට්ටිවලට දමයි. බෝල අට බැගින් වූ පෙට්ටි ගණන කීය ද? බෝල කීයක් ඉතුරු වේ ද?

## 9 න් බෙදමු.

**උදාහරණය 1**

189, 9 න් බෙදමු.

```
     21
9 | 189
    18
    --
    09
    09
    --
     0
```

189 ÷ 9 = 21

**උදාහරණය 2**

956, 9 න් බෙදමු.

```
    106
9 | 956
    9
    -
    05
    00
    --
     56
     54
    ---
      2
```

956 ÷ 9 = 106 ඉතුරු 2

**3** දීර්ඝ බෙදීමේ ක්‍රමයට පිළිතුරු ලබාගන්න.

(1) 108 ÷ 9 (2) 360 ÷ 9 (3) 603 ÷ 9

(4) 900 ÷ 9 (5) 965 ÷ 9 (6) 978 ÷ 9

**4** ගැටලු විසඳන්න.

(1) සරඹ සංදර්ශනයක දී ළමයි 144ක් 9 දෙනා බැගින් කණ්ඩායම් වෙති. සකස් වුණු කණ්ඩායම් ගණන කීය ද?

(2) ළමා කතන්දර පොත් 270ක් පුස්තකාල 9කට සමාන ප්‍රමාණවලින් බෙදා දෙන ලදි. එක් පුස්තකාලයකට ලැබුණු පොත් ප්‍රමාණය කොපමණ ද?

(3) කෙසෙල් පැළ 839ක් 9 බැගින් ගොවීන් කී දෙනෙකුට බෙදා දිය හැකි ද? ඉතුරු පැළ ද එක් අයෙකුට එක බැගින් නැවත බෙදා දුන් විට කෙසෙල් පැළ 10ක් බැගින් ලැබුණු ගොවීන් ගණන කීය ද?

## 10 න් බෙදමු.

**5** 10 න් බෙදීම ඇසුරින් හිස්තැන් පුරවන්න.

| | |
|---|---|
| (1) 10 ÷ 10 = ....... | (2) 40 ÷ ....... = 4 |
| (3) ....... ÷ 10 = 7 | (4) 20 ÷ ....... = 2 |
| (5) ....... ÷ 10 = 6 | (6) 30 ÷ 10 = ....... |
| (7) ....... ÷ 10 = 10 | (8) 80 ÷ ....... = 8 |
| (9) ....... ÷ ....... = 5 | (10) ....... ÷ ....... = 9 |

**6** පිළිතුරු ලබා ගන්න.

**උදාහරණය**

150 ÷ 10 = 15

154 ÷ 10 = 15 ඉතුරු 4

| | |
|---|---|
| (1) 46 ÷ 10 | (2) 95 ÷ 10 |
| (3) 357 ÷ 10 | (4) 580 ÷ 10 |
| (5) 634 ÷ 10 | (6) 572 ÷ 10 |
| (7) 700 ÷ 10 | (8) 905 ÷ 10 |
| (9) 841 ÷ 10 | (10) 999 ÷ 10 |

**7** ගැටලු විසඳන්න.

(1) අමල්, ඉරටු කැබලි 800ක් 10 බැගින් මිටි බඳියි. සෑදිය හැකි මිටි ගණන කීය ද?

(2) පානීය ජල බෝතල් 450ක්, එක් පෙට්ටියකට 10 බැගින් ඇසිරීමට අවශ්‍ය පෙට්ටි ගණන කොපමණ ද?

(3) බිත්තර 657ක් ඇති කූඩයකින් බිත්තර 10 බැගින් වූ ඇසුරුම් කීයක් සැකසිය හැකි ද? බිත්තර කීයක් ඉතුරු වේ ද?

(4) තල බෝල 804ක් එක් බෝතලයකට සමාන තල බෝල ගණනක් වන සේ බෝතල් 10කට දමන ලදි. එක් බෝතලයකට දැමූ තල බෝල ගණන කීය ද? තල බෝල කීයක් ඉතුරු වේ ද?





# 29 රෝම සංඛ්‍යාංක

## රෝම සංඛ්‍යාංක හඳුනා ගනිමු.

i = 1 v = 5 x = 10

| | | | | |
|---|---|---|---|---|
| i | ii | iii | iv | v |
| 1 | 2 | 3 | 4 | 5 |
| vi | vii | viii | ix | x |
| 6 | 7 | 8 | 9 | 10 |
| xi | xii | xiii | xiv | xv |
| 11 | 12 | 13 | 14 | 15 |
| xvi | xvii | xviii | xix | xx |
| 16 | 17 | 18 | 19 | 20 |

**1** සංඛ්‍යා නාමයට ගැළපෙන රෝම සංඛ්‍යාංකය ලියන්න.

(1) පහළොව - ..........

(2) දොළහ - ..........

(3) දහනවය - ..........

(4) එකොළහ - ..........

(5) විස්ස - ..........

(6) නවය - ..........

(7) දහතුන - ..........

(8) දෙක - ..........

(9) පහ - ..........

(10) දහසය - ..........

**2** රෝම සංඛ්‍යාංකයට අදාළ හින්දු අරාබි සංඛ්‍යාංකය ලියන්න.

(1) xiii - ..........

(2) xviii - ..........

(3) xix - ..........

(4) xvii - ..........

(5) xiv - ..........

(6) i - ..........

(7) x - ..........

(8) xvi - ..........

(9) iv - ..........

(10) xi - ..........

3 හිස්තැන් සම්පූර්ණ කරන්න.

| රෝම සංඛ්‍යාංකය | හින්දු අරාබි සංඛ්‍යාංකය |
|---|---|
| ....xii.... | 12 |
| xx | ............... |
| ............... | 19 |
| xiv | ............... |
| ............... | 13 |
| xv | ............... |
| ............... | 17 |
| xvi | ............... |
| ............... | 9 |
| xviii | ............... |

4 දී ඇති රෝම සංඛ්‍යාංකයට පෙර හා පසුව යෙදෙන රෝම සංඛ්‍යාංකය ලියන්න.

| පෙර | රෝම සංඛ්‍යාංකය | පසු |
|---|---|---|
| ....xi.... | ....xii.... | ....xiii.... |
| ............. | v | ............. |
| ............. | x | ............. |
| ............. | xiv | ............. |
| ............. | xix | ............. |
| ............. | xviii | ............. |

# 30 බර මැනීම - 2

1. පිළිතුරු සපයන්න.

**උදාහරණය**

| | kg | g |
|---|---|---|
| | 6 | 350 |
| × | | 5 |
| | 31 | 750 |
| | 1 | 2 |

(1)

| | kg | g |
|---|---|---|
| | 1 | 150 |
| × | | 3 |
| | | |

(2)

| | kg | g |
|---|---|---|
| | 2 | 100 |
| × | | 3 |
| | | |

(3)

| | kg | g |
|---|---|---|
| | 1 | 500 |
| × | | 4 |
| | | |

(4)

| | kg | g |
|---|---|---|
| | 3 | 225 |
| × | | 3 |
| | | |

(5)

| | kg | g |
|---|---|---|
| | 11 | 620 |
| × | | 2 |
| | | |

(6)

| | kg | g |
|---|---|---|
| | 4 | 520 |
| × | | 4 |
| | | |

(7)

| | kg | g |
|---|---|---|
| | 23 | 700 |
| × | | 3 |
| | | |

(8)

| | kg | g |
|---|---|---|
| | 30 | 805 |
| × | | 5 |
| | | |

(9)

| | kg | g |
|---|---|---|
| | 13 | 35 |
| × | | 4 |
| | | |

**2** ගැටලු විසඳන්න.

**උදාහරණය**

තේ දළු ගෝනියක බර 25 kg 200 gකි. එවැනි තේ දළු ගෝනි 3ක බර කොපමණ ද?

| | kg | g |
|---|---|---|
| | 25 | 200 |
| × | | 3 |
| | 75 | 600 |

තේ දළු ගෝනි 3ක බර = 75 kg 600 g

(1) ඉඳිආප්ප සෑදීමට දිනකට සහල් පිටි 1 kg 250 gක් අවශ්‍ය වේ. දින 3ක් සඳහා ඉඳිආප්ප සෑදීමට අවශ්‍ය සහල් පිටිවල බර කොපමණ ද?

(2) එකක බර 30 kg 500 g බැගින් වූ සහල් ගෝනි 5ක් ලොරියකට පටවන ලදි. ලොරියට පටවන ලද සහල් ගෝනිවල බර කොපමණ ද?

(3) කෝපි තොගයක් 15 kg 700 gක් බැගින් ගෝනි 3කට දමා ඇත. කෝපි තොගයේ බර කොපමණ ද?

(4) පෙට්ටියක අර්තාපල් 52 kg 300gක් අසුරා ඇත. අර්තාපල් ඇසුරූ එවැනි පෙට්ටි 4ක බර කොපමණ ද?

**3** පිළිතුරු සපයන්න.

**උදාහරණය**

$$
\begin{array}{r|ll}
 & 6\ \text{kg} & 125\ \text{g} \\
\hline
2 & 12\ \text{kg} & 250\ \text{g} \\
 & 12 & \\
\cline{2-2}
 & 0 & 2 \\
 & & 2 \\
 & & 05 \\
 & & \ \ 4 \\
 & & \ \ 10 \\
 & & \ \ 10 \\
 & & \ \ \ 0
\end{array}
$$

(1) $2 \overline{)\, 4 \text{ kg} \quad 250 \text{ g}}$

(2) $3 \overline{)\, 6 \text{ kg} \quad 345 \text{ g}}$

(3) $4 \overline{)\, 4 \text{ kg} \quad 40 \text{ g}}$

(4) $5 \overline{)\, 25 \text{ kg} \quad 625 \text{ g}}$

(5) $3 \overline{)\, 36 \text{ kg} \quad 375 \text{ g}}$

(6) $4 \overline{)\, 52 \text{ kg} \quad 204 \text{ g}}$

4 ගැටලු විසඳන්න.

**උදාහරණය**

කේක් 8 kg 360 gක ප්‍රමාණයක් පන්ති 4කට සමානව බෙදා දුන් විට එක් පන්තියකට ලැබුණු කේක් ප්‍රමාණය කොපමණ ද?

```
     2 kg    090 g
  ------------------
4 |  8 kg    360 g
  |  8
  |  --
  |  0       3
             0
             --
             36
             36
             --
              00
               0
              --
               0
```

එක් පන්තියකට ලැබුණ කේක් ප්‍රමාණය = 2 kg 90 g

(1) සමාන බරින් යුතු බිස්කට් පෙට්ටි 2ක බර 6 kg 500 gකි. එක් බිස්කට් පෙට්ටියක බර කොපමණ ද?

(2) පියාගේ බර පුතාගේ බර මෙන් පස් ගුණයකි. පියාගේ බර 75 kg 500gකි. පුතාගේ බර කොපමණ ද?

(3) කැරට් 9 kg 450 gකින්, සමාන බරින් යුතු මලු 3ක් සකසන ලදි. එක් මල්ලක ඇති කැරට්වල බර කොපමණ ද?

(4) වෙළෙන්දෙක් 64 kg 500 gක් බර සහල් ප්‍රමාණයක් සමාන බර ඇති ගොඩවල් 4කට වෙන් කරයි. එක් ගොඩක බර කොපමණ ද?

# 31 සංඛ්‍යා රටා - 2

පහත දැක්වෙන සංඛ්‍යා රටාව සලකමු.

1, 2, 4, 8, ...........

පළමුවන සංඛ්‍යාව
දෙවන සංඛ්‍යාව
තුන්වන සංඛ්‍යාව
හතරවන සංඛ්‍යාව

- මෙහි පළමුවන සංඛ්‍යාව 1 වේ.
- දෙවන සංඛ්‍යාව ලැබී ඇත්තේ පළමුවන සංඛ්‍යාව දෙකෙන් ගුණ කිරීමෙනි.

  $1 \times 2 = 2$
- තුන්වන සංඛ්‍යාව ලැබී ඇත්තේ දෙවන සංඛ්‍යාව දෙකෙන් ගුණ කිරීමෙනි.

  $2 \times 2 = 4$
- හතරවන සංඛ්‍යාව ලැබී ඇත්තේ තුන්වන සංඛ්‍යාව දෙකෙන් ගුණ කිරීමෙනි.

  $4 \times 2 = 8$
- මේ අනුව, පස්වන සංඛ්‍යාව ලැබෙනුයේ හතරවන සංඛ්‍යාව දෙකෙන් ගුණ කිරීමෙනි.

  $8 \times 2 = 16$
- එනම්, මෙම සංඛ්‍යා රටාවේ **පෙර සංඛ්‍යාව** දෙකෙන් ගුණ කිරීමෙන්, **පසු සංඛ්‍යාව** ලැබී ඇත.

**1** පහත දැක්වෙන්නේ එවැනි සංඛ්‍යා රටා කිහිපයකි. ඒවායේ හිස්තැන් පුරවන්න.

(1) 3, 6, 12, 24, .................., .................., .................

(2) 5, 10, 20, .................., .................

(3) 7, 14, 28, .................., .................

(4) 8, 16, 32, .................., .................

(5) 4, 8, 16, .................., .................., .................

(6) 9, 18, 36, .................., .................

පහත දැක්වෙන සංඛ්‍යා රටාව සලකමු.

4, 12, 36, 108, 324, 972

- මෙම සංඛ්‍යා රටාවේ **පෙර සංඛ්‍යාව** තුනෙන් ගුණ කිරීමෙන්, **පසු සංඛ්‍යාව** ලැබී ඇත.

**2** පහත දැක්වෙන්නේ එවැනි සංඛ්‍යා රටා කිහිපයකි. ඒවායේ හිස්තැන් පුරවන්න.

(1) 2, 6, 18, 54, ................., ................., .................

(2) 1, 3, 9, 27, ................., ................., .................

(3) 5, 15, 45, ................., .................

(4) 7, 21, 63, ................., .................

(5) 6, 18, 54, ................., .................

(6) 8, 24, 72, ................., .................

පහත දැක්වෙන සංඛ්‍යා රටාව සලකමු.

2, 8, 32, 128, 512, 2048

- මෙම සංඛ්‍යා රටාවේ **පෙර සංඛ්‍යාව** හතරෙන් ගුණ කිරීමෙන්, **පසු සංඛ්‍යාව** ලැබී ඇත.

**3** පහත දැක්වෙන්නේ එවැනි සංඛ්‍යා රටා කිහිපයකි. ඒවායේ හිස්තැන් පුරවන්න.

(1) 4, 16, 64, ................., .................

(2) 3, 12, 48, ................., .................

(3) 6, 24, 96, ................., .................

(4) 7, 28, 112, ................., .................

(5) 5, 20, 80, ................., ................., .................

පහත දැක්වෙන සංඛ්‍යා රටාව සලකමු.

1, 5, 25, 125, 625, 3125

- මෙම සංඛ්‍යා රටාවේ **පෙර සංඛ්‍යාව** පහෙන් ගුණ කිරීමෙන්, **පසු සංඛ්‍යාව** ලැබී ඇත.

4 පහත දැක්වෙන්නේ එවැනි සංඛ්‍යා රටා කිහිපයකි. එහි හිස්තැන් පුරවන්න.

(1) 3, 15, 75, ................., .................

(2) 4, 20, 100, ................., .................

(3) 6, 30, 150, ................., .................

(4) 8, 40, 200, ................., .................

(5) 2, 10, 50, ................., ................., .................

(6) 7, 35, 175, ................., .................

# 32 කෝණ, සැලසුම් හා පරිමාණ රූප

## ක්‍රියාකාරකම

කඩදාසියකින් වෘත්තාකාර හැඩයක් කපා ගන්න.

එය සමානව දෙකට නමා ගන්න.

එය නැවතත් දෙකට නමා ගන්න.




දැන් ලැබී ඇත්තේ සෘජුකෝණ මුල්ලක් සහිත කඩදාසියකි.

**1** රූපයෙහි ඇති කෝණ මත ඔබ සකස් කර ගත් සෘජුකෝණ මුල්ල තබා බලන්න. හිස්තැන් පුරවන්න.



**2** පහත දැක්වෙන කෝණ මත සකස් කර ගත් සෘජුකෝණ මුල්ල තබා බලන්න. ඒවා අතරින් සෘජුකෝණ තෝරා අදාළ අක්ෂරය යටින් ඉරක් අඳින්න.


(*a*)


(*b*)


(*c*)


(*d*)


(*e*)


(*f*)


(*g*)


(*h*)


(*i*)



සෘජුකෝණයට වඩා කුඩා කෝණයකි.



සෘජුකෝණයකි.



සෘජුකෝණයට වඩා විශාල කෝණයකි.

3. පහත දක්වා ඇති කෝණ, සෘජුකෝණයක් ද සෘජුකෝණයට වඩා කුඩා කෝණයක් ද සෘජුකෝණයට වඩා විශාල කෝණයක් ද යන්න ලියා දක්වන්න.

(*a*)



සෘජුකෝණයකි.
..............................................

(*b*)



..............................................

(*c*)



..............................................

(*d*)



..............................................

(*e*)



..............................................

(*f*)



..............................................

## තල සහිත වස්තුවක සැලැස්ම පරිමාණයට අඳිමු.







මෙහි සැලැස්ම පරිමාණයට අඳිමු.

ඔබේ අභ්‍යාස පොතේ එක් කොටුවක පැත්තක දිගින් එක් සෙන්ටිමීටරයක් නිරූපණය කළ විට,

3 cm සඳහා එවැනි කොටු 3ක දිගක් ද

5 cm සඳහා එවැනි කොටු 5ක දිගක් ද ගත හැකිය.

දැන් ඉහත සැලැස්ම පරිමාණයට අඳිමු.



**4** පහත දැක්වෙන එක් එක් ඝන වස්තුවේ සැලැස්ම පරිමාණයට අඳින්න.

(1)




(2)




(3)



# 33 දත්ත හැසිරවීම - 2

1 පහත දැක්වෙන්නේ කොළඹ කොටුව දුම්රිය ස්ථානයේ සිට ගමන් අරඹන නගරාන්තර දුම්රිය තුනක ගමන් වාර පිළිබඳ කාලසටහනකි. කාලසටහන බලා පිළිතුරු ලියන්න.

| දුම්රියේ නම | ගමන ආරම්භ කරන වේලාව | ගමනාන්ත දුම්රිය ස්ථානය | ගමන අවසන් කරන වේලාව |
|---|---|---|---|
| රුහුණු කුමාරි | 16:00 | මාතර | 19:30 |
| යාල් දේවි | 05:45 | වව්නියාව | 11:50 |
| උඩරට මැණිකේ | 09:45 | බදුල්ල | 19:05 |

(1) යාල් දේවි දුම්රිය ගමන් ආරම්භ කරන්නේ කීයට ද?

(2) යාල් දේවි දුම්රියෙහි ගමනාන්තය කවර දුම්රිය ස්ථානය ද?

(3) ගමනාන්තය මාතර දුම්රිය ස්ථානය වන්නේ කුමන දුම්රියේ ද?

(4) උඩරට මැණිකේ දුම්රිය ගමන් ආරම්භ කරන්නේ කීයට ද?

(5) බදුල්ල නගරයට යාමට ගමන් කළ යුත්තේ කුමන දුම්රියේ ද?

2 පහත දැක්වෙන්නේ ගැමුණු විදුහලේ ක්‍රීඩා උත්සවයේ වැඩසටහන් විස්තරයයි.

| වේලාව | අංගය |
| --- | --- |
| පෙ.ව. 9.00 | උත්සවය ආරම්භය |
| පෙ.ව. 9.30 | තරග පැවැත්වීම |
| පෙ.ව. 10.15 | සරඹ සංදර්ශනය |
| පෙ.ව. 10.30 | ආචාර පෙළපාළිය |
| පෙ.ව. 10.45 | ප්‍රධාන අමුත්තාගේ කථාව |
| පෙ.ව. 11.15 | තෑගි හා සහතිකපත් ප්‍රදානය |
| පෙ.ව. 11.45 | උත්සවයේ අවසානය |

**පිළිතුරු ලියන්න.**

(1) ක්‍රීඩා උත්සවයේ ආරම්භක වේලාව කීය ද?

(2) ක්‍රීඩා උත්සවයේ පෙ.ව. 10.30ට යෙදී ඇති අංගය කුමක් ද?

(3) සරඹ සංදර්ශනය පැවැත්වෙන්නේ කීයට ද?

(4) ප්‍රධාන අමුත්තාගේ කථාව පැවැත්වෙන්නේ කීයට ද?

(5) ක්‍රීඩා උත්සවය කොපමණ වේලාවක් පැවැත්වෙයි ද?

3. පුස්තකාලයක තිබෙන පොත් වර්ග පිළිබඳ තොරතුරු පහත වගුවේ දක්වා ඇත. වගුව ඇසුරින් හිස්තැන් සම්පූර්ණ කරන්න.

| ජන කතා පොත් | භාෂා පොත් | සඟරා | ඉතිහාස පොත් | ආගමික පොත් | නව කතා | කෙටි කතා |
|---|---|---|---|---|---|---|
| 400 | 220 | 200 | 500 | 420 | 700 | 250 |

(1) වැඩි ම පොත් ප්‍රමාණයක් ඇත්තේ ........................... පොත් ය.

(2) පුස්තකාලය තුළ ........................... පොත් 400ක් තිබේ.

(3) සඟරා ගණනට වඩා භාෂා පොත් ............................. වැඩියෙන් ඇත.

(4) ජන කතා සහ ........................... පොත්වල එකතුව 650කි.

(5) .............................. සහ ආගමික පොත්වල එකතුව 920කි.

4. 2018 වර්ෂයේ දී A සහ B විදුහල් දෙකෙහි ප්‍රාථමික ශ්‍රේණිවල සිටි සිසුන් පිළිබඳ තොරතුරු පහත වගුවෙන් දැක්වේ. ඒ ඇසුරින් පිළිතුරු ලියන්න.

| | 1 ශ්‍රේණිය | 2 ශ්‍රේණිය | 3 ශ්‍රේණිය | 4 ශ්‍රේණිය | 5 ශ්‍රේණිය |
|---|---|---|---|---|---|
| A විදුහල | 160 | 180 | 210 | 225 | 250 |
| B විදුහල | 160 | 165 | 190 | 210 | 230 |

(1) A විදුහලේ වැඩි ම සිසුන් ගණනක් සිටියේ කුමන ශ්‍රේණියේ ද?

(2) A සහ B විදුහල් දෙකෙහි ම සමාන සිසුන් ගණනක් සිටියේ කුමන ශ්‍රේණියේ ද?

(3) A විදුහලේ 5 ශ්‍රේණියේ සිසුන් ගණන, B විදුහලේ 5 ශ්‍රේණියේ සිසුන් ගණනට වඩා කොපමණ ප්‍රමාණයකින් වැඩි ද?

(4) B විදුහලේ 2, 3, 4 ශ්‍රේණිවල සිටි මුළු සිසුන් ගණන කොපමණ ද?

පහත දැක්වෙන්නේ නගර අතර දුර දැක්වෙන සටහනකින් කොටසකි. නගර අතර දුර ප්‍රමාණ දක්වා ඇත්තේ kmවලිනි.

| | අනුරාධපුරය | බදුල්ල | බණ්ඩාරවෙල | ත්‍රිකුණාමලය |
|---|---|---|---|---|
| බණ්ඩාරවෙල | | | | 183 |
| බදුල්ල | | | 32 | 167 |
| අනුරාධපුරය | | 272 | 163 | 196 |
| අඹේපුස්ස | 154 | 177 | 168 | 243 |

පහත දැක්වෙන්නේ මෙම සටහනින් ලබාගත් තොරතුරු කිහිපයකි.

- බදුල්ල සිට බණ්ඩාරවෙලට ඇති දුර 32 kmකි.
- බදුල්ල සිට ත්‍රිකුණාමලයට ඇති දුර 167 kmකි.
- බණ්ඩාරවෙල සිට ත්‍රිකුණාමලයට දුර 183 kmකි.
- බදුල්ල සිට බණ්ඩාරවෙල හරහා ත්‍රිකුණාමලයට ඇති දුර 215 kmකි. (32 km + 183 km)

**5** ඉහත සටහන ඇසුරෙන් පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(1) අඹේපුස්ස සිට අනුරාධපුරයට ඇති දුර කොපමණ ද?
(2) අනුරාධපුර සිට බණ්ඩාරවෙල දක්වා ඇති දුර කොපමණ ද?
(3) වැඩි ම දුර ප්‍රමාණයක් ඇත්තේ කිනම් නගර දෙක අතර ද?
(4) අඩු ම දුර ප්‍රමාණයක් ඇත්තේ කිනම් නගර දෙක අතර ද?
(5) දුර 177 kmක් වන්නේ කිනම් නගර දෙක අතර ද?
(6) අනුරාධපුරයේ සිට බදුල්ල හරහා බණ්ඩාරවෙලට ඇති දුර කොපමණ ද?

# 34 ගැටලු විසඳීම - 2

**1** විසඳන්න.

**උදාහරණය**

මල් පාත්තිවලට දැමීමට බර 2 kg 750 gක් බැගින් වූ පොහොර මලු 5ක් සිසුන්ට බෙදා දෙන ලදි. බෙදා දුන් පොහොරවල මුළු බර සොයන්න.

| | kg | g |
|---|---|---|
| | 2 | 750 |
| × | | 5 |
| | 13 | 750 |

පොහොරවල මුළු බර = 13 kg 750 g

(1) පේළියකට පොල් පැළ 8 බැගින් පේළි 50ක සිටුවීමට පොල් පැළ කීයක් අවශ්‍ය ද?

(2) A හා B නගර දෙක අතර දුර 15 kmකි. C හා D නගර දෙක අතර දුර එමෙන් හත් ගුණයකි. C හා D නගර දෙක අතර දුර කිලෝමීටර කීය ද?

(3) පෙට්ටියක විදුලි බුබුළු 120ක් අසුරා ඇත. එවැනි පෙට්ටි හයක ඇති මුළු විදුලි බුබුළු ගණන කීය ද?

(4) සේවකයෙකුගේ දිනක වැටුප රුපියල් 975ක් වේ. ඔහු දින පහක් තුළ ඉපයූ මුළු මුදල සොයන්න.

(5) ළමයෙකු දිනක දී පානය කළ යුතු ජලය ප්‍රමාණය 1 *l* 500 mlක් වේ. ඒ අනුව ළමයෙකු දින තුනක දී පානය කළ යුතු ජල ප්‍රමාණය සොයන්න.

**2** විසඳන්න.

**උදාහරණය**

විශාල බඳුනක ජලය 20 $l$ක් ඇත. එම ජල ප්‍රමාණය බෝතල් 4කට සමාන ප්‍රමාණවලින් දමන ලදි. එම බෝතලයක අඩංගු වන ජලය ප්‍රමාණය කොපමණ ද?

$$\begin{array}{r|l} & 5\ l \\ \hline 4 & 20\ l \\ & \underline{20} \\ & 0 \end{array}$$

බෝතලයක අඩංගු වන ජලය ප්‍රමාණය = 5 $l$

(1) චාරිකාවකට සහභාගි වන ශිෂ්‍ය සංඛ්‍යාව 432කි. සෑම බස් රථයකට ම සමාන ශිෂ්‍ය සංඛ්‍යාවක් වන පරිදි ඔවුන් බස් රථ අටකට වෙන් කරන ලදි. එක් බස් රථයක ගමන් කරන ශිෂ්‍ය සංඛ්‍යාව කොපමණ ද?

(2) එක ම ප්‍රමාණයේ කාමර පහක බිම ඇතිරීමට පිඟන් ගඩොල් 350ක් අවශ්‍ය වේ. එක් කාමරයක් සඳහා අවශ්‍ය වන පිඟන් ගඩොල් ගණන කීය ද?

(3) ක්‍රීඩකයෙක් 800 m දුර දිවීමේ තරගය වට දෙකකින් සම්පූර්ණ කරයි. ඔහු එක වටයක දී දුවන දුර සොයන්න.

(4) පරිප්පු 27 kg 450 gක ප්‍රමාණයක් බරින් සමාන වන සේ පැකට් නවයක අසුරන ලදි. එක් පැකට්ටුවක ඇති පරිප්පුවල බර කොපමණ ද?

**3** විසඳන්න.

**උදාහරණය**

පේළියක පුටු 28 බැගින් පුටු පේළි 9ක් ශාලාවක ඇත. එම පුටු ප්‍රමාණය සමාන පේළි 7කට නැවත සකස් කරනු ලැබේ. නැවත සකස් කළ පසු එක පේළියකට පුටු කීයක් තිබේ ද?

$$\begin{array}{r} 28 \\ \times \quad 9 \\ \hline 252 \\ \hline\hline \end{array}$$

මුළු පුටු ගණන = 252

$$\begin{array}{r|l} & \;\;36 \\ \cline{2-2} 7 & 252 \\ & 21 \\ \cline{2-2} & \;\;42 \\ & \;\;42 \\ \cline{2-2} & \;\;\;0 \end{array}$$

නැවත සකස් කළ පසු එක පේළියක ඇති පුටු ගණන = 36

(1) පෙට්ටියක අසුරා ඇති යෝගට් ගණන 50කි. එවැනි පෙට්ටි නවයක අසුරා තිබූ යෝගට්, රැගෙන යාමේ පහසුව සඳහා නැවත පෙට්ටි තුනක අසුරන ලදි. අලුතින් ඇසුරූ පෙට්ටියක යෝගට් කොපමණ තිබේ ද?

(2) එක් බස් රථයක සිසුහු 48 දෙනෙක් සිටිති. එවැනි බස් රථ පහක සිටින සිසුහු, කණ්ඩායම් හතරකට වෙන් වූහ. එක් කණ්ඩායමක සිටින සිසුන් ගණන කොපමණ ද?

(3) එක් උරයක වෙරළු ගෙඩි 45ක් ඇත. එවැනි උර අටක ඇති වෙරළු ගෙඩි යහළුවන් හයදෙනෙකු අතරේ සමව බෙදා දෙන ලදි. එක් යහළුවෙකුට ලැබුණු වෙරළු ගෙඩි ගණන කීය ද?

# 35 පුනරීක්ෂණය - 3

**1** යහළුවන් කිහිප දෙනෙකුගේ නිවාස පිහිටා ඇති ආකාරය පහත සැලැස්මෙන් දැක් වේ.




(1) මිහිරිගේ නිවස පිහිටා ඇත්තේ තාරකීගේ නිවසට කුමන දිශාවෙන් ද?
(2) නිර්මාල්ගේ හා මිහිරිගේ නිවාස පිහිටා ඇත්තේ ක්‍රිෂ්ණාගේ නිවසට කුමන දිශාවෙන් ද?
(3) ක්‍රිෂ්ණාගේ නිවස පිහිටා ඇත්තේ ළහිරුගේ නිවසට කුමන දිශාවෙන් ද?
(4) මිහිරිගේ නිවසට වයඹ දිශාවෙන් පිහිටා ඇත්තේ කාගේ නිවස ද?
(5) නිර්මාල්ගේ නිවස පිහිටන්නේ තාරකීගේ නිවසට කවර දිශාවෙන් ද?

**2** ගුණිතයට ගැළපෙන පිළිතුර තෝරා යා කරන්න.

| | | | | | |
|---|---|---|---|---|---|
| (1) | 4 × 8 | 54 | (6) | 8 × 8 | 81 |
| (2) | 6 × 9 | 27 | (7) | 5 × 8 | 90 |
| (3) | 9 × 8 | 32 | (8) | 9 × 9 | 64 |
| (4) | 3 × 9 | 18 | (9) | 7 × 8 | 56 |
| (5) | 2 × 9 | 72 | (10) | 10 × 9 | 40 |

**3** ගුණ කරන්න.

(1)
$$\begin{array}{r} 74 \\ \times \quad 8 \\ \hline \\ \hline \hline \end{array}$$

(2)
$$\begin{array}{r} 62 \\ \times \quad 9 \\ \hline \\ \hline \hline \end{array}$$

(3)
$$\begin{array}{r} 205 \\ \times \quad 8 \\ \hline \\ \hline \hline \end{array}$$

(4)
$$\begin{array}{r} 197 \\ \times \quad 9 \\ \hline \\ \hline \hline \end{array}$$

(5)
$$\begin{array}{r} 379 \\ \times \quad 8 \\ \hline \\ \hline \hline \end{array}$$

(6)
$$\begin{array}{r} 106 \\ \times \quad 9 \\ \hline \\ \hline \hline \end{array}$$

**4** විසඳන්න.

(1) පෙට්ටියක අඹ ගෙඩි 245ක් ඇත. එවැනි පෙට්ටි අටක ඇති අඹ ගෙඩි ගණන කීය ද?

(2) එක් ළමයෙකුට බැලුම් බෝල නවය බැගින්, ළමයි 309 දෙනෙකුට දීමට අවශ්‍ය බැලුම් බෝල ගණන කොපමණ ද?

(3) එක් පැකැට්ටුවක කිරි ටොෆි කැලි දහයක් ඇත. එවැනි කිරි ටොෆි පැකට් 85ක තිබෙන මුළු කිරි ටොෆි කැලි ගණන කීය ද?

**5** හිස් කොටුවලට සුදුසු ඉලක්කම ලියන්න.

(1)
$$\begin{array}{r} 8\,\square \\ \times \quad 8 \\ \hline 648 \\ \hline \hline \end{array}$$

(2)
$$\begin{array}{r} 1\,\square\,5 \\ \times \quad 9 \\ \hline 945 \\ \hline \hline \end{array}$$

(3)
$$\begin{array}{r} 3\,\square\,1 \\ \times \quad 8 \\ \hline 2408 \\ \hline \hline \end{array}$$

(4)
$$\begin{array}{r} \square\,9 \\ \times \quad 9 \\ \hline 801 \\ \hline \hline \end{array}$$

**6** සුළු කරන්න.

(1)
$$\begin{array}{rr} l & ml \\ 1 & 134 \\ \times & 2 \\ \hline & \\ \hline \hline \end{array}$$

(2)
$$\begin{array}{rr} l & ml \\ 3 & 115 \\ \times & 3 \\ \hline & \\ \hline \hline \end{array}$$

(3)
$$\begin{array}{rr} l & ml \\ 6 & 125 \\ \times & 4 \\ \hline & \\ \hline \hline \end{array}$$

(4)
$$\begin{array}{rr} l & ml \\ 16 & 321 \\ \times & 5 \\ \hline & \\ \hline \hline \end{array}$$

(5) $2\overline{)\,6\ l\ \ 462\ \text{ml}}$  (6) $2\overline{)\,4\ l\ \ 604\ \text{ml}}$

(7) $3\overline{)\,9\ l\ \ 120\ \text{ml}}$  (8) $3\overline{)\,12\ l\ \ 921\ \text{ml}}$

**7** දියර 900 mlක් අල්ලන ජෝගුවක් සම්පූර්ණයෙන් පුරවා හතර වාරයක් දැමූ විට බෝතලයක් සම්පූර්ණයෙන් පිරවිය හැකි ය.

(1) එම බෝතලය සම්පූර්ණයෙන් පිරවූ විට එහි ඇති දියර ප්‍රමාණය කොපමණ ද?

(2) එම බෝතලය සම්පූර්ණයෙන් පුරවා එහි ඇති දියර ප්‍රමාණයෙන් එක සමාන කුඩා බෝතල් තුනක් සම්පූර්ණයෙන් පුරවා ඇත. එක් කුඩා බෝතලයක් සම්පූර්ණයෙන් පිරී ඇති විට එහි ඇති දියර ප්‍රමාණය කොපමණ ද?

**8**







20 *l* 640 ml




(1) B භාජනය සම්පූර්ණයෙන් පිරවීමට, A භාජනය සම්පූර්ණයෙන් පුරවා වාර පහක දී දැමිය යුතු වේ. A භාජනය සම්පූර්ණයෙන් පිරවූ විට එහි ඇති දියර ප්‍රමාණය කොපමණ ද?

(2) C භාජනය සම්පූර්ණයෙන් පුරවා දෙවාරයක් දැමූ විට B භාජනය සම්පූර්ණයෙන් පිරේ. C භාජනය සම්පූර්ණයෙන් පිරවූ විට එහි ඇති දියර ප්‍රමාණය කොපමණ ද?

**9** දීර්ඝ බෙදීමේ ක්‍රමයට පිළිතුරු ලබා ගන්න.

(1) $132 \div 8$  (2) $160 \div 8$  (3) $609 \div 8$

(4) $630 \div 9$  (5) $702 \div 9$  (6) $919 \div 9$

**10** දීර්ඝ බෙදීමේ ක්‍රමයට ගැටලු විසඳන්න.

(1) ගුරුතුමිය වළලු 562ක් එක් ළමයෙකුට අට බැගින් නැටුම් කණ්ඩායමක සිටි ළමයින්ට ලබා දුන්නා ය. එහි සිටි ළමයින් ගණන කීය ද? ඉතුරු වළලු ගණන කීය ද?

(2) එකිනෙකට වෙනස් වූ පාට නවයකින් යුත් බෝල 819ක් ඇත. සෑම පාටකින් ම සමාන බෝල ගණනක් ඇත. එක් පාටකින් ඇති බෝල ගණන කීය ද?

**11** පිළිතුරු සපයන්න.

(1) $60 \div 10$ (2) $85 \div 10$

(3) $650 \div 10$ (4) $863 \div 10$

**12** ගැටලු විසඳන්න.

(1) එක් පෙළකට ඇල්ලීමට පිඟන් ගඩොල් දහය බැගින් අවශ්‍ය වේ. පිඟන් ගඩොල් 960ක් පේළි කීයකට ඇල්ලිය හැකි ද?

(2) පාසලක පිරිසිදු කිරීමේ ශ්‍රමදානයට දෙමවුපියන් කණ්ඩායම් කිරීමට තීරණය කර ඇත. පැමිණ සිටි දෙමාපියන් සංඛ්‍යාව 864කි. ඔවුන්ගෙන් දහදෙනා බැගින් කණ්ඩායම් කීයක් සැකසිය හැකි ද? ඉතුරු පිරිස ද යොදා ගෙන දහදෙනෙකුගේ කණ්ඩායමක් සැකසීමට තව කීදෙනෙක් අවශ්‍ය ද?

**13** පිළිතුරු සපයන්න.

(1)

| | kg | g |
|---|---|---|
| | 14 | 125 |
| + | 32 | 911 |

(2)

| | kg | g |
|---|---|---|
| | 34 | 63 |
| + | 26 | 86 |

(3)

| | kg | g |
|---|---|---|
| | 44 | 57 |
| − | 21 | 63 |

(4)

| | kg | g |
|---|---|---|
| | 82 | 65 |
| − | 61 | 74 |

(5)

| | kg | g |
|---|---|---|
| | 22 | 420 |
| × | | 3 |

(6)

| | kg | g |
|---|---|---|
| | 32 | 120 |
| × | | 5 |

(7) 5 ⟌ 20 kg 325 g

(8) 4 ⟌ 32 kg 160 g

**14** වෙළෙන්දෙක් 15 kg 120 gක් බැගින් බර පරිප්පු ගෝනි 4ක් මිල දී ගත්තේ ය.

(1) වෙළෙන්දා මිල දී ගත් පරිප්පුවල මුළු බර කොපමණ ද?

(2) මිල දී ගත් එම පරිප්පු ප්‍රමාණය බරින් සමාන වන ලෙස ඇසුරුම් තුනක අසුරන ලදි. එක් ඇසුරුමක ඇති පරිප්පුවල බර කොපමණ ද?

**15** වගුවේ හිස්තැන් පුරවන්න.

| හින්දු අරාබි සංඛ්‍යාංකය | රෝම සංඛ්‍යාංකය |
|---|---|
| 11 | ............... |
| 8 | ............... |
| ............... | xiii |
| 10 | ............... |
| ............... | xvii |
| 12 | ............... |

**16** රටාව හඳුනාගෙන හිස්තැන් සම්පූර්ණ කරන්න.

(1) 4, 12, 36, 108, .........., .........., ..........

(2) 1, 4, 16, 64, .........., .........., ..........

(3) 6, 12, 24, 48, .........., .........., ..........

(4) 1, 5, 25, 125, .........., ..........

(5) 7, 21, 63, 189, .........., ..........

(6) 2, 10, 50, 250, .........., ..........

**17** පහත දක්වා ඇති එක් එක් කෝණය, **සෘජුකෝණයක්** ද **සෘජුකෝණයට වඩා කුඩා කෝණයක්** ද **සෘජුකෝණයට වඩා විශාල කෝණයක්** ද යන්න ලියා දක්වන්න.



18 පහත දැක්වෙන්නේ සිසුන් පස්දෙනෙකුගේ පාසලට පැමිණීම පිළිබඳ තොරතුරු ඇතුළත් වගුවකි.

| නම | නිවසේ සිට පාසලට ඇති දුර | පාසලට පැමිණෙන ආකාරය | පාසලට පැමිණීමට ගතවන කාලය |
|---|---|---|---|
| සුමුදු | 1 km 200 m | ත්‍රිරෝද රථයෙන් | මිනිත්තු 10 |
| සඳුනි | 500 m | පයින් | මිනිත්තු 15 |
| ළහිරු | 15 km | දුම්රියෙන් | මිනිත්තු 40 |
| මීනා | 1 km | පයින් | මිනිත්තු 35 |
| හසන් | 2 km | බසයෙන් | මිනිත්තු 20 |

ඉහත වගුව ඇසුරෙන් පිළිතුරු සපයන්න.

(1) පාසලට පයින් පැමිණෙන සිසුන් කවුරුන් ද?

(2) දුම්රියෙන් පාසලට පැමිණෙන සිසුවා කවුද?

(3) සුමුදුට නිවසේ සිට පාසලට ඇති දුර කොපමණ ද?

(4) හසන් පාසලට පැමිණෙන ආකාරය කුමක් ද?

(5) මිනිත්තු 30කට වඩා අඩු කාලයක් ගත කරමින් පාසලට පැමිණෙන්නේ කවුරුන් ද?

19 පිළිතුරු සපයන්න.

(1) සිසුන් හයදෙනා බැගින් කණ්ඩායම් 18කි. එම සිසුන් හතරදෙනා බැගින් නැවත කණ්ඩායම් කළේ නම් එවිට ලැබෙන කණ්ඩායම් ගණන කීය ද?

(2) පොල්ගෙඩි 210ක් ගෝනි හතකට සමානව දමන ලදි. ඉන් ගෝනි හතරක් විකුණන ලදි. විකුණන ලද පොල්ගෙඩි ගණන කොපමණ ද?

# 36 පුනරීක්ෂණය - 4

1. වගුව පිටපත් කරගෙන හිස්තැන් පුරවන්න.

| සංඛ්‍යාව | ඉලක්කම | ඉලක්කම පිහිටි ස්ථානය | ස්ථානීය අගය | ඉලක්කමෙන් නිරූපිත අගය |
|---|---|---|---|---|
| 3352 | .......... | දහයස්ථානය | 10 | .................... |
| 13 452 | 3 | ................................ | ............ | .................... |
| 81 563 | .......... | ................................ | 1 | .................... |
| 39 450 | .......... | ................................ | .............. | 400 |
| 10 894 | 0 | ................................ | .............. | .................... |
| 25 760 | 2 | ................................ | .............. | .................... |
| 80 607 | 6 | ................................ | .............. | .................. |
| 75 000 | .......... | එකස්ථානය | .............. | .................... |

2. හිස්තැන් සම්පූර්ණ කරන්න.

(i) 50 000 + 6000 + 200 + 40 + 8 = ....................

(ii) 30 000 + 0 + 100 + 20 + 0 = ....................

(iii) 60 000 + 4000 + 0 + 10 + 5 = ....................

(iv) 90 000 + 0 + 700 + 0 + 3 = ....................

3. විහිදුවා ලියන්න.

(i) 3055 (ii) 24 382 (iii) 4230 (iv) 20 003

4. දී ඇති සංඛ්‍යා ආරෝහණ පටිපාටියට ලියන්න.

(i) 18 314, 12 524, 11 431

(ii) 32 120, 42 021, 22 210

(iii) 94 375, 94 275, 94 735

**5** දී ඇති සංඛ්‍යා සියල්ල ම භාවිත කරමින්,

4, 2, 0, 6, 5

(i) සෑදිය හැකි විශාල ම සංඛ්‍යාව ලියන්න.

(ii) සෑදිය හැකි කුඩා ම සංඛ්‍යාව ලියන්න.

(iii) 25 000ත් 50 000ත් අතර පිහිටන සංඛ්‍යා තුනක් ලියා එම සංඛ්‍යා තුන ආරෝහණ පටිපාටියට ලියන්න.

(iv) 45 000ත් 55 000ත් අතර පිහිටන සංඛ්‍යා තුනක් ලියා එම සංඛ්‍යා තුන අවරෝහණ පටිපාටියට ලියන්න.

**6** යටින් ඉරි ඇඳි සංඛ්‍යාවේ සංඛ්‍යා නාමය ලියන්න.

(i) නිවසේ බිත්ති බැඳීමට තාත්තා ගඩොල් කැට <u>32 250</u>ක් ගෙනාවේ ය.

(ii) ජාතික නිදහස් උත්සවය නැරඹීමට <u>10 000</u>කට අධික පිරිසක් පැමිණියහ.

(iii) සමස්ත ලංකා ළමා පාසල් ක්‍රීඩා තරගයට සහභාගිවීමට පාසල් සිසුහු <u>11 600</u>ක් බෝගම්බර ක්‍රීඩා පිටියට පැමිණියහ.

(iv) එක්තරා නගරයක මිනිස්සු <u>18 050</u>ක් වෙසෙති.

**7** පිළිතුරු සපයන්න.

(1)

| | | | | |
|---|---|---|---|---|
| | 5 | 7 | 6 | 7 |
| + | 1 | 3 | 2 | 0 |
| | | | | |

(2)

| | | | | |
|---|---|---|---|---|
| | 1 | 3 | 8 | 8 |
| + | 4 | 7 | 3 | 4 |
| | | | | |

(3)

| | | | | |
|---|---|---|---|---|
| | 2 | 3 | 5 | 2 |
| | 1 | 7 | 2 | 0 |
| + | 3 | 1 | 0 | 8 |
| | | | | |

(4)

| | | | | |
|---|---|---|---|---|
| | 3 | 2 | 7 | 7 |
| | 1 | 8 | 3 | 2 |
| + | 1 | 0 | 1 | 6 |
| | | | | |

(5)

| | | | | |
|---|---|---|---|---|
| | 8 | 2 | 7 | 9 |
| − | 3 | 4 | 2 | 3 |
| | | | | |

(6)

| | | | | |
|---|---|---|---|---|
| | 6 | 3 | 2 | 0 |
| − | 3 | 7 | 1 | 9 |
| | | | | |

**8** සංඛ්‍යා ලියා ඇති කාඩ්පත් 5ක් පහත දැක්වේ.

| A | B | C | D | E |
|---|---|---|---|---|
| 2130 | 2700 | 3080 | 3425 | 873 |

(i) D හා E කාඩ්පත් දෙකේ සඳහන් සංඛ්‍යාවල එකතුව සොයන්න.

(ii) A, C, E කාඩ්පත් තුනෙහි සඳහන් සංඛ්‍යාවල එකතුව සොයන්න.

(iii) C කාඩ්පතේ සඳහන් සංඛ්‍යාව හා B කාඩ්පතේ සඳහන් සංඛ්‍යාව අතර වෙනස සොයන්න.

(iv) C කාඩ්පතේ සඳහන් සංඛ්‍යාව E කාඩ්පතේ සඳහන් සංඛ්‍යාවට වඩා කොපමණ වැඩි ද?

**9** රටාව හඳුනාගෙන හිස්තැන් සම්පූර්ණ කරන්න.

(i) 32, 34, 36, 38, ..............., ..............., ...............

(ii) 210, 215, 220, 225, ..............., ..............., ...............

(iii) 5, 10, 20, 40, ..............., ..............., ...............

(iv) 341, 345, 349, 353, ..............., ..............., ...............

(v) 3, 9, 27, 81, ..............., ..............., ...............

(vi) 406, 412, 418, 424, ..............., ..............., ...............

(vii) 102, 111, 120, 129, ..............., ..............., ...............

(viii) 62, 70, 78, 86, ..............., ..............., ...............

(ix) 1, 4, 16, 64, ..............., ..............., ...............

(x) 47, 54, 61, 68, ..............., ..............., ...............

**10** එක් එක් රූපයේ පාට කර ඇති කොටස, මුළු රූපයෙන් කවර භාගයක් දැයි තිත් ඉර මත ලියන්න.

(i)



..................................

(ii)



..................................

(iii)



..................................

(iv)



..................................

(v)



..................................

**11** අන්නාසි ගෙඩි 24කින්,

(i) $\frac{1}{4}$ක අන්නාසි ගෙඩි කීයක් තිබේ ද?

(ii) $\frac{2}{4}$ක අන්නාසි ගෙඩි කීයක් තිබේද ?

(iii) $\frac{3}{4}$ක අන්නාසි ගෙඩි කීයක් තිබේ ද?

12. පිළිතුරු සපයන්න.

(1)

| | | | |
|---|---|---|---|
| | 2 | 8 | 2 |
| × | | | 3 |

(2)

| | | | |
|---|---|---|---|
| | 4 | 0 | 2 |
| × | | | 7 |

(3)

| | | | |
|---|---|---|---|
| | 3 | 2 | 4 |
| × | | | 4 |

(4)

| | | | |
|---|---|---|---|
| | 7 | 4 | 1 |
| × | | | 6 |

(5)

| | | | |
|---|---|---|---|
| | 3 | 2 | 5 |
| × | | | 8 |

(6)

| | | | |
|---|---|---|---|
| | 7 | 3 | 1 |
| × | | | 9 |

13. පිළිතුරු සපයන්න.

(1) 234 ÷ 6 (2) 315 ÷ 7 (3) 820 ÷ 6

(4) 771 ÷ 4 (5) 402 ÷ 3 (6) 952 ÷ 8

(7) 828 ÷ 10 (8) 923 ÷ 9

14. ගැටලු විසඳන්න.

(1) එක් පෙට්ටියක සබන් කැට හයක් ඇත. එවැනි පෙට්ටි 512ක ඇති සබන් කැට ගණන කොපමණ ද? ඒවායින් සබන් කැට තුන බැගින් වූ ඇසුරුම් සකස් කරන ලදි. මුළු ඇසුරුම් ගණන කොපමණ ද?

(2) වෙළෙන්දෙක් එක පොකුරක ඇන්තූරියම් මල් හත බැගින් වූ පොකුරු 308ක් මිලට ගත්තේ ය. ඔහු මිල දී ගත් ඇන්තූරියම් මල් ගණන කොපමණ ද? ඔහු ඒවායින් මල් හතර බැගින් වූ පොකුරු සකස් කළේ ය. ඔහු සකස් කළ මල් පොකුරු ගණන කීය ද?

(3) තොග වෙළෙඳසලක පොල් ගෙඩි අට බැගින් වූ ගොඩවල් 312ක් ඇත. තොග වෙළෙඳසලේ ඇති මුළු පොල් ගෙඩි ගණන කොපමණ ද? එම මුළු පොල් ගෙඩි ප්‍රමාණය යොදාගෙන එක් ගොඩක පොල් ගෙඩි හය බැගින් වූ ගොඩවල් කීයක් සැකසිය හැකි ද?

(4) අභ්‍යාස පොත් නවය බැගින් සිසුන් 126කට ලබාදීමට අවශ්‍ය මුළු අභ්‍යාස පොත් ගණන කොපමණ ද? ඒවා සිසුවෙකුට හත බැගින් සිසුන් කී දෙනෙකුට ලබා දිය හැකි ද?

**15** පිළිතුරු සපයන්න.

(1) පෙ.ව. 6.55ට පාසල වෙත පැමිණි රාධා පාසලෙන් ප.ව. 2.20ට නිවස බලා යාමට පිටත් වේ.

(i) ඇය පාසලෙන් පිටත් වූ වේලාව පැය 24 ඔරලෝසු වේලාවෙන් ලියන්න.

(ii) රාධා පාසලේ ගත කළ කාලය කොපමණ ද?

(2) කසුන් මිතුරන් සමග මිනිත්තු 40ක් ක්‍රීඩා කර ප.ව. 5.30ට ක්‍රීඩා කිරීම අවසන් කළේ ය. ඔහු ක්‍රීඩා කිරීම ආරම්භ කළ වේලාව කීය ද?

(3) පෙ.ව. 10.20ට පිටත් වූ බසයක් පැය 4 මිනිත්තු 45කින් පසු ගමනාන්තයට ළඟා විය. බසය ගමනාන්තයට ළඟා වූ වේලාව කීය ද?

**16** දී ඇති සටහන ඇසුරෙන් පිළිතුරු ලියන්න.




(i) A නගරයේ සිට B හරහා C නගරයට ගමන් කරන්නෙකු යා යුතු දුර කොපමණ ද?

(ii) A සහ B නගර අතර ඇති දුරත් B සහ C නගර අතර ඇති දුරත් අතර වෙනස කීය ද?

(iii) A සහ E නගර අතර ඇති දුර මෙන් 3 ගුණයක දුරක් ඇත්තේ කුමන නගර අතර ද?

(iv) E සහ D නගර අතර ඇති දුරට වඩා D සහ C නගර අතර ඇති දුර කොපමණ වැඩි ද?

(v) A සිට C නගරයට යා හැකි කෙටි ම දුර කොපමණ ද?

17 විසඳන්න.

(1) නෙතුම් පාසල් යාමට නිවසේ සිට 1 km 170 mක දුරක් යතුරු පැදියෙන් ද 20 km 500 mක් දුර පාසල් බස්රථයෙන් ද ගමන් කර පාසල වෙත පැමිණෙයි. පාසලට නෙතුම්ගේ නිවසේ සිට ඇති දුර කොපමණ ද?

(2) දිග 110 m 75 cmක් වූ ශාලාවක 50 m 25 cmක දිග ප්‍රමාණයක් පුටු තැබීම සඳහා වෙන් කර ඇත. ශාලාවේ පුටු තැබීමට වෙන් කර නොමැති කොටසේ දිග කොපමණ ද?

(3) මේසයකට දැමීමට අවශ්‍ය මේස රෙද්දේ දිග 3 m 30 cmක් වේ. එවැනි මේස පහකට දැමීමට අවශ්‍ය වන මේස රෙදි ප්‍රමාණයේ දිග කොපමණ ද?

(4) 40 m 80 cmක් දිග කම්බි රෝලක් දිග සමාන වන පරිදි කැබලි අටකට වෙන් කරන ලදි. එක් කම්බි කැබැල්ලක දිග කොපමණ ද?

(5) පාපැදි තරගයක, එක් තරගකරුවකු සම්පූර්ණ කළ යුතු මුළු දුර 40 km 800 mකි. එම තරගයේ දී සුනිල් 15 km 410 mක දුරක් ගමන් කර ඇත. තරගය නිම කිරීම සඳහා තව කොපමණ දුරක් ඔහු ගමන් කළ යුතු ද?

18 පිළිතුරු සපයන්න.

(1) සුමිත් ළඟ රුපියල් 75 සත 25ක් ද රමේෂ් ළඟ රුපියල් 170 සත 50ක් ද ඇත. දෙදෙනා ළඟ ඇති මුළු මුදල කොපමණ ද?

(2) කමලිනී ළඟ රුපියල් 325 සත 25ක් ඇත. ඇය එයින් රුපියල් 182 සත 75ක් වියදම් කළා ය. දැන් ඇය ළඟ ඉතුරු මුදල කොපමණ ද?

**19** නිම් ඇඳුම් අලෙවිහලක විකිණීමට තිබූ නිම් ඇඳුම්වල මිල ගණන් පහත දැක්වේ.

| නිම් ඇඳුම් වර්ගය | මිල | |
|---|---|---|
| | රුපියල් | සත |
| ළමා බැනියම | 260 | 00 |
| කොට කලිසම | 420 | 00 |
| දිග කලිසම | 740 | 00 |
| අත් කොට කමිසය | 525 | 00 |
| අත් දිග කමිසය | 825 | 00 |

(1) (i) ගැමුණු ළමා බැනියමක්, කොට කලිසමක් සහ දිග කලිසමක් මිල දී ගත්තේ ය. ඔහු ගෙවිය යුතු මුළු මුදල කීය ද?

(ii) ඒ සඳහා ඔහු රුපියල් 1500ක් දුන් විට ලැබෙන ඉතුරු මුදල කීය ද?

(2) රාමන් ළඟ රුපියල් 750ක් ඇත. ඔහුට අත් දිග කමිසයක් මිල දී ගැනීම සඳහා තව කොපමණ මුදලක් අවශ්‍ය ද?

**20** වෙළෙඳසලක තිබූ මිල දර්ශනයක් පහත දැක්වේ.

| මිල දර්ශනය | |
|---|---|
| පරිප්පු 1 kg | රු. 124.00 |
| සහල් 1 kg | රු. 100.00 |
| කඩල 1 kg | රු. 260.00 |
| හාල්මැස්සන් 1 kg | රු. 900.00 |





(1) බිල්පත සම්පූර්ණ කරන්න.

| ද්‍රව්‍යය | මිලට ගත් ප්‍රමාණය | 1 kg ක මිල රුපියල් | සත | වටිනාකම රුපියල් | සත |
|---|---|---|---|---|---|
| කඩල | 500 g | 260 | 00 | ............ | ....... |
| පරිප්පු | 1 kg 250 g | 124 | 00 | ............ | ....... |
| සහල් | 3 kg | 100 | 00 | ............ | ....... |
| මුළු මුදල | | | | ............ | ..... |

(2) (i) තාත්තා පරිප්පු 2 kg, සහල් 2 kg 500 g හා හාල්මැස්සන් 250 g මිල දී ගත්තේ ය. ඒ සඳහා බිල්පත සකස් කරන්න.

(ii) ඉහත ද්‍රව්‍ය මිල දී ගැනීමට රුපියල් 800ක් දුන් විට ලැබෙන ඉතුරු මුදල සොයන්න.

**21** විසඳන්න.

(1)

| | *l* | ml |
|---|---|---|
| | 15 | 750 |
| + | 9 | 165 |

(2)

| | *l* | ml |
|---|---|---|
| | 20 | 65 |
| + | 18 | 850 |

(3)

| | *l* | ml |
|---|---|---|
| | 16 | 725 |
| − | 9 | 460 |

(4)

| | *l* | ml |
|---|---|---|
| | 17 | 325 |
| − | 7 | 615 |

(5)

| | *l* | ml |
|---|---|---|
| | 5 | 810 |
| × | | 5 |

(6)

| | *l* | ml |
|---|---|---|
| | 9 | 215 |
| × | | 4 |

(7) 3 ⟌ 27 *l* 195 ml

(8) 4 ⟌ 28 *l* 480 ml



**22** විසඳන්න.

(1) තීන්ත 4 *l* 380 mlක් භාජන හතරකට සමානව දැමූ විට එක් භාජනයක අඩංගු වන තීන්ත ප්‍රමාණය කොපමණ ද?

(2) භාජනයක කිරි 12 *l* 250 mlක ප්‍රමාණයක් ඇත. එවැනි භාජන තුනක ඇති මුළු කිරි ප්‍රමාණය කොපමණ ද?

(3) ටැංකියක ජලය 35 *l* 500 mlක් තිබිණි. භාවිත කළ පසු එහි ඉතිරිව තිබූ ජල ප්‍රමාණය 4 *l* 700 mlකි. භාවිත කරන ලද ජල ප්‍රමාණය කොපමණ ද?

(4) භාජනයක තිබූ භූමිතෙල්වලින් 17 *l* 850 mlක් ප්‍රයෝජනයට ගත් පසු 7 *l* 150 mlක් ඉතුරු විය. ආරම්භයේ දී භාජනයේ තිබූ භූමිතෙල් ප්‍රමාණය කොපමණ ද ?

**23** විසඳන්න.

(1)

| | kg | g |
|---|---|---|
| | 14 | 125 |
| + | 32 | 911 |
| | | |

(2)

| | kg | g |
|---|---|---|
| | 34 | 04 |
| + | 26 | 86 |
| | | |

(3)

| | kg | g |
|---|---|---|
| | 44 | 857 |
| − | 21 | 763 |
| | | |

(4)

| | kg | g |
|---|---|---|
| | 82 | 65 |
| − | 61 | 74 |
| | | |

(5)

| | kg | g |
|---|---|---|
| | 17 | 250 |
| × | | 4 |
| | | |

(6)

| | kg | g |
|---|---|---|
| | 22 | 130 |
| × | | 5 |
| | | |

(7)

4 | 48 kg 324 g

(8)

3 | 27 kg 225 g

24 විසඳන්න.

(1) වෙළෙඳසලක සුදු සීනි 14 kg 650 gක් ද දුඹුරු සීනි 20 kg 310 gක් ද තිබිණි. ඉන් දුඹුරු සීනි 17 kg 250 gක් විකුණන ලදි.

(i) වෙළෙඳසලේ තිබූ මුළු සීනි ප්‍රමාණය කොපමණ ද?

(ii) විකිණීමෙන් පසු ඉතුරු වූ සීනි ප්‍රමාණය කොපමණ ද?

(2) තේ කොළ 14 kg 400 g ප්‍රමාණයක් බරින් සමාන වන පරිදි ඇසුරුම් දෙකකට දමන ලදි. එවිට එක් ඇසුරුමක ඇති තේ කොළ ප්‍රමාණය කොපමණ ද?

(3) සමාන බරින් යුතු මිරිස් කුඩු පැකට් 5ක ඇති මුළු මිරිස් කුඩුවල බර 5 kg 625 gකි. එක පැකට්ටුවක ඇති මිරිස් කුඩුවල බර කොපමණ ද?

25 ගොවිපළකින් නෙළාගන්නා ලද එළවළු ප්‍රමාණ පිළිබඳ තොරතුරු පහත වගුවේ දැක්වේ. ඒ ඇසුරෙන් පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| එළවළු වර්ගය | ප්‍රමාණය |
|---|---|
| පතෝල | 33 kg 650 g |
| බණ්ඩක්කා | 65 kg 50 g |
| මාළුමිරිස් | 7 kg 150 g |
| වම්බටු | 30 kg 120 g |
| මෑ කරල් | 33 kg 150 g |
| වට්ටක්කා | 64 kg 200 g |

(1) මෑ කරල් හා බණ්ඩක්කාවල මුළු බර කොපමණ ද?

(2) වම්බටු හා පතෝලවල බර අතර වෙනස කොපමණ ද?

(3) ගියවර මාළුමිරිස් එලදාව මෙවර එලදාවට වඩා 2 kg 30 gකින් වැඩි ය. ගියවර මාළුමිරිස් එලදාව කොපමණ ද?

(4) මෙවර මෑ කරල් එලදාවට වඩා ගියවර මෑ කරල් එලදාව තුන් ගුණයකින් වැඩි ය. ගියවර මෑ කරල් එලදාව කොපමණ ද?

(5) මෙවර වට්ටක්කා එලදාව ගියවර වට්ටක්කා එලදාව මෙන් දෙගුණයකි. ගියවර වට්ටක්කා එලදාව කොපමණ ද?

**26** පහත ප්‍රශ්නවලට ගැළපෙන පිළිතුර **ඝනකය, ඝනකාභය, චතුස්තලය, සිලින්ඩරය** යන ඝන වස්තු අතරින් තෝරා ලියන්න.

(1) ත්‍රිකෝණාකාර මුහුණත් පමණක් ඇති ඝන වස්තුව කුමක් ද?

(2) ශීර්ෂ 8ක් දාර 12ක් සහිත ඝන වස්තු මොනවා ද?

(3) සමචතුරස්‍රාකාර මුහුණත් පමණක් ඇති ඝන වස්තුව කුමක් ද?

(4) වෘත්තාකාර මුහුණත් 2ක් සහිත ඝන වස්තුව කුමක් ද?

**27** එක්තරා සතියක පෙර පාසලක සිසුන්ගේ පැමිණීම පිළිබඳ තොරතුරු පහත තීර ප්‍රස්තාරයේ දැක්වේ.

**පෙර පාසලක සිසුන්ගේ පැමිණීම**




(1) සිසුන්ගේ පැමිණීම වැඩි ම කවදා ද?

(2) සිසුන්ගේ පැමිණීම අඩු ම කවදා ද?

(3) බදාදා පැමිණි සිසුන් ගණන කොපමණ ද?

(4) සිසුන්ගේ පැමිණීම 25ක් ලෙස දැක්වෙන්නේ කවදා ද?





**28** එක් දිනක උදෑසන ආහාරය සඳහා සිසුන් විසින් ගෙනෙන ලද ආහාර වර්ග හා සිසුන් ගණන පිළිබඳ තොරතුරු පහත වගුවේ දැක්වේ.

| ආහාර වර්ගය | සිසුන් ගණන |
|---|---|
| බත් | 10 |
| කඩල | 5 |
| පාන් | 4 |
| මුං ඇට | 4 |
| රොටි | 2 |

අභ්‍යාස පොතේ එක් කොටුවකින් නිරූපණය වන සිසුන් ගණන සුදුසු පරිදි තෝරාගෙන ඉහත තොරතුරු තීර ප්‍රස්තාරයක දක්වන්න.

**29** පාසලක සතියක් තුළ සිසුන්ගේ පැමිණීම පිළිබඳ තොරතුරු පහත වගුවේ දැක්වේ.

| සඳුදා | අඟහරුවාදා | බදාදා | බ්‍රහස්පතින්දා | සිකුරාදා |
|---|---|---|---|---|
| 500 | 568 | 590 | 575 | 550 |

වගුව ඇසුරින් හිස්තැන් සම්පූර්ණ කරන්න.

(1) සඳුදා දින සිසුන් ..........................දෙනෙක් පාසලට පැමිණ ඇත.

(2) අඟහරුවාදාට වඩා බ්‍රහස්පතින්දා සිසුන් ............................ දෙනෙක් පාසලට පැමිණ ඇත.

(3) පැමිණි සිසුන් ගණන 580ට වඩා වැඩි වන්නේ ..................................ය.

**30** නගර කිහිපයක් අතර දුර දැක්වෙන සටහනක් පහත දැක්වේ. මෙහි නගර අතර දුර කිලෝමීටරවලින් දක්වා ඇත. පිළිතුරු සපයන්න.

| | | | | මඩකලපුව |
|---|---|---|---|---|
| | | | බදුල්ල | 166 |
| | | අවිස්සාවේල්ල | 171 | 213 |
| | අනුරාධපුරය | 195 | 272 | 195 |
| අඹේපුස්ස | 154 | 42 | 177 | 242 |

(1) අවිස්සාවේල්ල සිට බදුල්ල දක්වා ඇති දුර කොපමණ ද?

(2) මඩකලපුව සිට අනුරාධපුරය දක්වා ඇති දුර කොපමණ ද?

(3) වැඩි ම දුර ප්‍රමාණයක් ඇත්තේ කිනම් නගර දෙක අතර ද?

(4) දුර 177 kmක් වන්නේ කිනම් නගර දෙක අතර ද?

(5) අඹේපුස්ස සිට අවිස්සාවේල්ලට ගොස් මඩකලපුව දක්වා ගමන් කරන මගියෙක් ගමන් කළ මුළු දුර කොපමණ ද?

**31** පහත රූපය දෙස බලා පිළිතුරු ලියන්න.



(1) පාට කළ කොටස දහයෙන් පංගු කීය ද?

(2) පාට කළ කොටස දශම සංඛ්‍යාවක් ලෙස ලියන්න.

(3) පාට නොකළ කොටස දශම සංඛ්‍යාවක් ලෙස ලියන්න.

(32) ගෙවත්තක ඇති ගස්වල පිහිටීම පිළිබඳ තොරතුරු පහත දැක්වේ. ඒ ඇසුරෙන් හිස්තැන් සම්පූර්ණ කරන්න.




(1) නිවසට උතුරු දිශාවෙන් ..................... ගස ද නිවසට ............................. දිශාවෙන් උණ පඳුර ද ඇත.

(2) අඹ ගසට .................................... දිශාවෙන් කජු ගස ඇත.

(3) නිවසට ..................................... දිශාවෙන් අරලිය ගස ද බස්නාහිරින් ..................................... ගස ද ඇත.

(4) නිවසට ...................................... දිශාවෙන් දෙල් ගස ඇත.

(5) දෙල් ගසට .................................. දිශාවෙන් නිවස හා පේර ගස ඇත.

## 33 පහත වගුව සම්පූර්ණ කරන්න.

| සංඛ්‍යා නාමය | හින්දු අරාබි සංඛ්‍යාංකය | රෝම සංඛ්‍යාංකය |
|---|---|---|
| හතර | ............ | ............ |
| ............ | 14 | ............ |
| දහනවය | ............ | ............ |
| ............ | ............ | xv |
| ............ | ............ | ix |
| ............ | 16 | ............ |
| ............ | 20 | ............ |
| දහඅට | ............ | ............ |

## 34 විසඳන්න.

(1) ඇසුරුමක ඇති පැන්සල් සංඛ්‍යාව හයකි. එවැනි ඇසුරුම් 48ක ඇති පැන්සල්, පන්ති හතරක් අතරේ සමව බෙදා දෙන ලදි. එක් පන්තියකට ලැබුණු පැන්සල් ගණන කීය ද?

(2) අඹ ගෙඩියක් රුපියල් 15ක් වේ. අඹ ගෙඩි දහයක් සඳහා වැය වූ මුදල යහළුවන් පස්දෙනෙකු අතරේ සමව බෙදාගනු ලැබුවේ නම් එක් යහළුවෙකු වැය කළ මුදල කොපමණ ද?

(3) ළමා වේදිකා නාට්‍යයක් නැරඹීම සඳහා සෙනසුරාදා දිනයේ නරඹන්නන් 430ක් ද, ඉරිදා දිනයේ 475ක් ද, සඳුදා දිනයේ 360ක් ද පැමිණියහ. සෙනසුරාදා සහ ඉරිදා යන දින දෙකේ පැමිණි නරඹන්නන් ගණනෙහි එකතුවට සමාන වීමට සඳුදා දිනයේ තව කොපමණ නරඹන්නන් පිරිසක් පැමිණිය යුතුව තිබුණේ ද?

**35** පහත කොටු දැල මත,

(1) සෘජුකෝණයක් අඳින්න.

(2) සෘජුකෝණයට වඩා කුඩා කෝණයක් අඳින්න.

(3) සෘජුකෝණයට වඩා විශාල කෝණයක් අඳින්න.

(1)

(2)

(3)

